අධ්‍යාපන ග්‍රන්ථ ප්‍රකාශක මණ්ඩලයෙන් සම්මතයි. 16 - 5 - 52
රසායනය - 2

# මඟුල් කෑම

කුමාරතුංග මුනිදාසයන්

ebook by



Lazylizard

# ප්‍රකාශනය

කුමාරතුඟු මුනිඳසුන්ගේ හෙළ ආර තවද ඉදිරියට රැ ගෙන යෑම අප පරම යුතුකමෙකි. හෙළ බසෙත් හෙළ ළිවි සැරියෙන් දියුණුවට මැ කැපවුනු නිවැරදි, නිරවුල්, හරවත්, රසවත් බස් වහර උදෙසා ඔහු ගත් මහ අද අමතක වෙමින් පැවැතෙයි. එහෙත් ඔහු පළ කළ පබඳ හෙළයට නැවත පිදිය යුතුයැ. ගත තවද පළැ කල යුතුයැ. ළමුනට බෙද දිය යුතුයැ. මුනිඳසුන්ගේ මෙමැ පබඳ මෙකල සෙවීමද ඉතා අසීරුය. එහෙයින් මෙය පහරුව සඳහා මැ තැත් ගන්නට සිදුවිය. ඔහුගේ බස් වහර අපට මෙන්ම ළමුනටද රුචි වියැ. එහෙයින් ඔහු හෙළ දරුවනට තිළිණ කළ හීන්සැරය පලමුව එළි දැක්වීමි. ඊළඟට මහුල්කැම හෙළ දරුවනට පුදන්නට පහරුවෙන් එළි දක්වන්නට සිත්විය. මෙය ළමුනගේ දෝතට පිදෙන්නේ කුමරතුඟු බැතියෙනි.

කහටගස් දිගිලියේ සුමේධ හිමි

ශෛලබිම්බාරාමය,
කහටගස් දිගිලිය,
06. 03. 1996.

1. පරිච්ඡේදය

# කුකුළා ගමුව

කුකුළා ගමුවට වඩා රමණීය වූ ගමකට හිර නො පායයි. ඒ ගම විසිතුරු බලන්නට ම හිර පායති යි සමහර විට සිතේ. කුකුළන් ගේ ගෙවල්, කෙළි බිම්, පොර බිම්, පල්ලි, සබා මළු යන මේ ආදිය සුදුසු සුදුසු තන්හි සුදුසු සේ ම පිහිටියේ ය. එ හෙයින් ඒ පිළිබඳව පරීක්ෂා කරන්නකුට අපහසු වෙතොත් දෙසක් සොයා-ගැනීම ය.

ගෙය ලොකු දෙරෙකින් යුක්ත ය. බිත්ති මිනිසුන් ගේ ගෙවල මෙන් ගල් සුනු මැටි ආදියෙන් තනත ගද්දේ නො වේ. එකකට එකක් නොවද්ද ගසන ලදලී පටි නිසා ගෙට අලුත් වාතයෙන් කිසි අඩුවෙක් නැත. ගෙවල් අහසෙහි පිහිටි හෙයින් එහි වසන කුකුළන් ගේ උසස් බව මනා සේ වටහාගත හැකි ය.

රෑ මුත් දවල් නම් කුකුළෝ ගෙට නො වදිති. හිස රිදීමක් වත් හෙම්බිරිසාවක් වත් ඇති වූවාට දවල් ගෙට වැදී නිඳ-ගැන්මෙක් ඔවුන්ගේ නැත. එළි මහනේ අලුත් වාතය පමණ ලෙඩට හොඳ බෙහෙදක් නැතැ යි කුකුළෝ කියති. කියන්නා සේ ම කෙරෙති. එ හෙයින් කුකුළු හාමි-හාමිනිවරුන් ද කුකුළු දරුවන් ද දවස පුරා එළි මහනේ දී දැක්ක හැකි ය.

## මඟුල් කෑම

කුකුළන් ගේ කෙළි බිම් බොහෝ ය. ඔවුන් ගේ ප්‍රධාන ක්‍රීඩාව නම් මල්ල යුද්ධය හෙවත් පොරය යි. බහ තේරෙන කාලයේ සිට කුකුළු දරුවෝ මල්ල යුද්ධයට පුරුදු වෙති. ඔවුන් ගේ හෝඩියේ අකුරු ඉතා ටික ය. ඔවුන් ගේ පදත් ඉතා ටික ය. එහෙයින් අකුරු කියන්නට ඉගෙන ගන්නට නම් පල්ලියට යන්නේ ම නැත.



එහෙත් ලිවීම පල්ලියේ දී උගනිති. උගන්වන්නී කිකිළි හාමිනේ ය. ලියන්නේ බිම ය. අතින් නො වේ, පයිනි. පෑනක් පැන්සලක් පැන්සලක් නො ගැනේ, දෙ පයින් ම ලියැවෙයි. දරුවෝ ඒ බලා උගනිත්. මෙ සේ ලියන කල පොළොවේ නිධාන මතු වෙයි. කිකිළි හාමිනේ ද දරුවෝ ද ඒ නිධාන වහා හොටින් ඇහිඳ-ගනිති.

## කුකුළා ගමුව

මහ කුකුළෝ නොයෙක් විට පොර අනිති. එ ද කුකුළා ගමුවට සැණ කෙළි දිනයෙකි. තරුණ කිකිළියෝ වටා බලා ගෙන සිටිති. වීරයෝ දෙ දෙනා පණ නො බලා පොරට වදිති. වරක් එකකුට ජය අත් වන්නා සේ පෙනේ. වරක් අනෙකාට ජය අත් වන්නා සේ පෙනේ. දෙ දෙනා ගේ ම කරමල ඉරෙයි, පෙඳ හැලෙයි, ලේ ගලයි. එහෙත් එකෙකුත් පසු නො බසී. වේදනාව ඉවසා-ගත නොහැකි වූ විට එකෙක් පලා යයි. පොරය නවතින්නේ එ විට ය. දිනූ කුකුළා හිස ඔසොවා මහත් ජය නාද කොට, තේජස පාමින් මඳ වේලාවක් ඔබට මොබට සක්මන් කොට, කිකිළියන් පිරිවරා-ගෙන යයි.

හිර බැස යනවාත් සමඟ ම සියලු කුකුළෝ තම-තමන් ගේ ගෙට යති. එකෙකුත් රෑ මඟ බැස නො ඇවිදී. ගෙට වන් වහා ම සියල්ලෝ නිදති. වේලාසන නිදීම ලෙඩ දුක් නැති වීමට හේතුවක් බව ඔහු පුරුද්දෙන් ම දන්නෝ ය. නිදන්නා සේ ම වේලාසන පිබිදීම ඔවුන් ගේ සිරිත ය. පිබිදුණු වහා ම මහ කුකුළෝ පාඩම් කියන්නට පටන්ගනිත්. තොල් මතුරා කීමෙක් ඔවුන් ගේ නැත. කියන දේ හඬ නඟා ම කියති, පිරිසුදු ශබ්දයෙන් කියති, හස්ව, දීර්ඝ, ප්ලුත යන තුන ඉතා පැහැදිලි සොට කියති. කුකුළු දරුවන් කියන්නට උගන්නේ මේ වේලාවේ ම ය. මෙ සේ ඔහු පියන් ගෙන් කියන්නට ද මවුන් ගෙන් ලියන්නට ද උගනිත්.

කුකුළා ගෙන් උගන්නෝ ඔහු ගේ දරුවෝ ම නො වෙති. මිනිස්සු ද උගනිත්, කුකුළා පාඩම් කරනු අසා කුසීත නොවන්නා වූ අය නින්දෙන් පිබිද පිරිසුදු වී පාඩම් කරන්නට පටන්-ගනිති. වෙන කටයුතුහෝ කෙරෙති. එ සේ පිබිද අලුත් වාතය ආශ්වාස කිරීමෙන් ඔහු ලෙඩින් දුරුවෙති, බොහෝ කල් ජීවත් වෙති, නුවණ ඇති අය වෙත්.

## අභ්‍යාස වැඩ

1. කුකුළන් ගේ ප්‍රධාන ක්‍රීඩාව කීමෙන් ද?
2. කුකුළා ගමුව පරීක්ෂා කරන්නකුට කිමෙක් දකින්නට ලැබේ ද ?
3. කුකුළන් ගේ ගෙවල් අහසෙහි පිහිටි බැවින් අප වටහා -ගන්නේ කිමෙක් ද?
4. කුකුළන් ගේ ගෙට අලුත් වාතයෙන් හිඟයක් නැත්තේ ඇය ?
5. කුකුළන් ගේ අදහසේ හැටියට ලෙඩට ඉතා හොඳ බේත් කිමෙක් ද?
6. ලෙඩ දුක් නැති වීමට හේතු වන කවර කවර සිරිත් කුකුළන් ගේ ඇත්තේ ද?
7. මේ වචනලට මීට වඩා පහසු වෙන වචන ලියන්න. පරීක්ෂා, රමණීය, කෙළි බිම්, හස්ව, දීර්ඝ, ප්ලුත.
8. මේවායේ අඩු තැන් පුරවන්න.
   (1) බිත්ති මිනිසුන් ගේ ගෙවල මෙන් ............ ............ ආදියෙන් තනන .................... නො වේ.
   (2) රෑ මුත් ..................... නම් කුකුළෝ ......................... නො වදිති.
   (3) ..................... කෙළි බිම් බොහෝ ය.
   (4) ..................... බැස යනවාත් සමඟ ම ................ කුකුළෝ තම-තමන් ගේ ...................... යති.

2. පරිච්ඡේදය

# හිවලා වල

කුකුළා ගමුවට හැතැප්මක් පමණ ඈතින්වනය මැද්දේ පිහිටියේ හිවලා වල යි. එ ද දකින්නට ම වටිනා තැනෙකි. මහ ගස් මහ අතු විහිදුවා-ගෙන අහස ඔසවා-ගෙන මෙන් සිටියේ ය. ඒ අතර කොස්, දෙල්, අඹ, පළු, වීර යනාදී ගස් ද වෙයි. වැළෙහි වරකයෙහි සුවඳ මුළු වනයෙහි පැතිර යයි. ගස් මුල්වලැ විහිදී ගෙතී සැදුණු මඩු වටා පිපුණු මලින් විසිතුරු ය. තන්හි තන්හි ගල් ගුහා ද වෙයි. වඳුරෝ ගෙඩි මල් කොළ කමින් ගසින් ගසට පනිමින් කෙළිති, ලෙහෙන්නු ටිං ටිං ගාමින් වලගෙ ගසෙහි ගසති. වලස්සු මී සොයා ගස් නඟිති. කුරුල්ලෝ මිහිරි නාද පවත්වත්.

ගල් ගුහාවල ද වැල් මඩුවල ද තවත් වර්ගයෙක සත්ත්වයෝ වෙත්. ඔහු නම් සිවල්ලු ය. එක් තැනෙක දරුවන් කිරි පොවා සනහන සිවල් හාමිනේ ය. එක් තැනෙක රෑ දඩයමට ගොස් වෙහෙස වී අවුත් නිදන සිවල් හාමි ය. එක් තැනෙක පෙම් කෙළින සිවල් දරුවෝ ය. දස අත කන ලද සතුන් ගේ ඇට කටු ය. තරුණ සිවල්ලු කෙළි දඩයම් කෙරෙති, තරඟයට දිවෙති. එකෙක් අනිකකු හඹා යෙයි. පළමු දිවූයේ මඳක් දිව ගොස් බිම පෙරළී හතර පා ඔසොවයි. හඹා ගියේ පෙරළුණහු ගේ බඩ විකා, පා විකා,



මුව විකා තෙමේ දිවෙයි. අනෙකා වහා නැඟී දිවුවහු හඹා යයි, තමාට කල තාක් දෑ ඔහුට කෙරෙයි. මේ අතින් හිවලා වල දවස පුරා බලා සිටිය හැකි ය.

හිවල් මුළේ නායනයා වූ නුවණ හාමි දිනක් වැඩි හිටියන් කීප දෙනෙකුන් සමඟ දෙඩ දෙඩා උන්නේ ය. ' දැන් මේ වනයේ ආහාර බොහොම හිඟ නො වේ යැ ? ඊයේ මට නම් බඩ පුරා කන්නට ලැබුණෙත් නැ' යි හේ කීයේ ය.

' ඒක නො වේ නම් ? බලන්න, ඊයේ අර හා හාමි අල්ලා-ගත්තේ කො පමණ වද විදලා ද? ඔබ එළවා-ගෙන එන කල ඔහු දුවන්නට ඉගුළුණා.

ඉදිරියේ මේ විහිළු හාමි දැක-ලා දකුණු අතට හැරී දිවුවා. අනේ එහෙම දිවුමක් ඔහු මට අහුවෙන කල මගේ හොඳ පණ ගොහින්. මෙ සේ කී වේ කපට හාමි ය.

' ඒකා වත් නො ලැබුනා නම් ?' ය යි කියා විහිළු හාමි සුසුමක් හෙළුයේ ය.

නුවන හාමි මද වේලාවක් සිතිවිල්ලේ උන්නේ ය. 'කුකුළු මස් කෑ කලක් වත් මට මතක නෑ. මගේ ලොකු පුතා, කන් දිගා, කුකුලා ගමුවේ දී මැරුණු ද සිට මෙ තෙක් මා ඒ දිසාවට වත් ගියේ නෑ. රස ය කියා කෑමට ගොසින් මැරෙන්නට පුළුවනැ ? අනේ, මගේ ඇස් ඉදිරියේ ම මගේ පුතා මැරුම් කෑ සැටි මතක් වන විට මගේ ඇසට දැනුත් කඳුළු එනවා.' මෙ සේ කියා නුවණ හාමි වමතින් ඇස පය-දමා-ගත්තේ ය.

' හැබෑවට ම එ ද ඒ කුමක් වුණා දැ ' යි මෙහි දී විහිළු හාමි ප්‍රශ්නයක් ඇසී ය. නුවන හාමි සිදු වූ දේ විස්තර කෙළේ ය. ' කුමක් වුණා ද ? මගේ පුතා කුකුළා ගමුවට ඇතුළු වෙනවා හා ම ඒ බය-ගුලු කුකුළු රළ මර හඬ දෙන්නට පටන්-ගත්තා. එ විට ම, කොයින් ආවා ද මා දන්නේ නෑ, අර නපුරු බලු හාමි බුරා-ගෙන ඇවිත්, කන් දිගා කුකුළා ගමුවේ මැදට එළවා දැමුවා. ගොවි හාමි දිව-ගෙන ආවා, දඬු කැල්ලක් දික් කළා, එයින් ගිනි පිට වුණා,

මහ හඬක් නැඟුණා, මගේ පුතා ඉවර යි '

කවුරුත් මේ වර සුසුම් හෙළුවෝ ය. කවුරුත් නො දෙඩා සිටියෝ ය. අන්තිමයේ දී නුවණ හාමි ම නැවතත් දෙඩීම පටන්-ගත්තේ ය. ' හොඳයි. පුතා මළා. මට නම් කුකුළු මස් කෑල්ලක් නො කා තිකම් ලෙඩ වගෙයි. කුමක් කරමු ද ?' මෙ සේ කියනවා හා ම නුවණ හාමි ගේ කට මඳක් දිය වුණේ ය, දිව තොලේ ගෑවුණේ ය. ඉතිරි අය ගේ කටේ ද මේ වෙනස වූයේ ය. ' යමු ද, කවුරුත් කුකුළන් හතර පස් දෙනෙකු ඩැහැ-ගෙන එන්නට ?' යි විහිළු හාමි ඇසී ය. ' යමු, යමු, තවත් නොඑන්නට ම යමු ' යි කපට හාමි වේගයෙන් කීයේ ය.

නුවණ හාමි නැවැතත් සිතිවිල්ලට වැටුණේ ය. ඉතිරි අය ඔහු ගේ මුහුණ දෙස බලා සිටියෝ ය. ඉවසා-ගෙන ඉන්නට බැරි තැන, මහ දිග කල්පනාවක් වගෙයි' යනු විහිළු හාමිට කියැ වුණේ ය. නුවණ හාමිට මඳක් සිනා ගියේ ය, ඔහු ගේ හිස මඳක් සෙලැවුණේ ය, ඔහු ගේ ඇස් දෙක පළල් වුණේ ය. හේ දෙඩන්නට වනි. ' බලවු, තව වැඩි දවසක් යන්නට පෙර අප එක එකාට අඩු ගණනේ එක-එක බැගින් වත් කුකුළන් මෙතැනටම නො ගෙනාවොත් මට නුවණ හාමි ය කියන්නට එපා. මෙසේ කියා හේ මහත් ආඩම්බර ලීලායෙන් රවුළ ද කරනවා ගත්තේ ය, නැවතත් දිව තොලේ ගෑවේ ය, තලූ ද ගැසී ය.

හිවලා වල

විහිළු හාමි විහිළුවට ම පටන්- ගත්තේ ය. 'කුකුළු මස් කාලා තලුත් ගසා ඉවර දැ' යි ඔහු ඇසූ කල, නුවණ හාමි ඔහුට රවා, 'ඔබ එදට කුකුළු මස් කන්නේ නැද්දැ ?' යි ඇසී ය. විහිළු හාමි ඇස් කරකවන්නට වන්නේ ය.

'කුකුළන් ගෙනෙන්නේ කෙසේදැ ?' යි ඉතිරි අය ඇසූ හ. නුවන හාමි හිස දෙපසට ගසා කී ය. ' නෑ, නෑ. දැන් ම කියන්නේ නෑ. මෙය දැන් ම කිවුවොත් සිදු වෙන්නෙත් නෑ. එ සේ නම් මගේ නමේ මුලට 'අ' යන්නකුත් යොදන්නට වෙයි. බලමු'.

### අභ්‍යාස වැඩ

1. මේවායේ අඩු තැන් පුරවන්න.

(1) එක් තැනෙක ........................ කිරි පොවා.......................... සිවල් හාමිනේ ය.

(2) ........................ රෑ දඩයමට ගොස්. ................ අවුත් නිදන ........................ හාමි ය.

(3) ........................ නායකයා වූ ....................හාමි දිනක් ........................ කීප දෙනෙකුන් සමඟ දෙඩ දෙඩා ......................

(4) රස ය කියා ............................ ගොසින් ......................... පුළුවනැ ?.

(5) අර නපුරු ................ බුරා-ගෙන ඇවිත් ..................
කුකළා ගමුවේ ..................... එළවා දැමුවා.

2. හිවලා වල ගමේ ඇති ගස් ජාති සඳහන් කොට ඒවායින් ඔබ දැක ඇති ගස්වල නම් යටින් ඉරක් ගසන්න.

3. හිවලා වල ගමේ සිටිනා හිවලුන් හැර වෙනත් සතුන් කරන වැඩ සඳහන් කරන්න.

4. හිවලා වලේ සිටිනා හිවලුන් කීපදෙනෙකුන් ගේ නම් සඳහන් කරන්න.

5. මේවා වෙන වචන වලින් ලියන්න.

ඔසොවා-ගෙන, වර්ගයෙක, හඬා යෙයි. දුවන්නට, ඉගිළුණා, ආඩම්බර ලීලායෙන්.

6. ගොවි හාමි කන් දිගා දෙසට දික් කළ දඩු කැල්ල කිමෙක් ද?

7. 'එ සේ නම් මගේ නමේ මුලට 'අ' යන්නකුත් යොදන්නට වෙයි' කියා කීයේ කවරෙක් ද ? එ සේ 'අ' යන්න යෙදුවා ම ඒ නම සිටින්නේ කෙසේ ද ?

3. පරිච්ඡේදය

# සතුරු මිතුරු කම

දිනක් නුවණ හාමිට මහත් භයෙක් උපන්නේ ය. ගොවි ගෙදර බලු හාමිට ඉතා සැලැකිල්ලෙන් බිම ඉඹ-ඉඹ කැලයට යයි. ඔහු පස්සෙන් ආ ගොවි හාමි ගේ කර උඩ අර දඬු කැබැල්ල ය. නුවණ හාමිට මළ පුතා මතක් විය. දඬුයෙන් නැඟුණු ගිනි මතක් විය, හඬ මතක් විය, පුතා ගේ මර හඬ මතක් වීය. හේ මඳක් දිව පස්ස බැලී ය. බලු හාමිත් ගොවි හාමිත් වෙන අතෙක යන බව දැක යන්තම් ළය නිවා-ගෙන කල්පනා කරන්නට වූයේ ය.

කුකුළා ගමුවට යන්නට කදිම දවස. බලු හාමිත් නැ, ගොවි හාමිත් නැ. ගිනි දඬුවත් නැ. එහෙත් දවල් යනවා මගේ හිතට හොඳ නැ. නැ, නැ එකකු දෙන්නකු ගෙනැවිත් කුමක් කරන්නට ද ? මහ කුකුළු රළ ම ගෙනැවිත් මඟුල කන්නට අද උගුල ඇටැවීම පටන්-ගන්නවා. මා එ ද සිතූ උපායට අද තමා හොඳ නැකැත. මෙ සේ සිතා නුවණ හාමි ගෙදර ගොස්, තමා බැහැරෙක යන බව හාමිනේට කියා කුකුළා ගමුව දෙසට පිටත් ව ගියේ ය.

නුවණ හාමි කුකුළා ගමුවට ළං වන විට එහි මහත් කලබලයෙක් පැවතුණේ ය. එද දෙ පළෙක පොර දෙකෙකි.. දෙ පළෙහි ම මල්ලයෝ කරට කර සරි ය. එ හෙයින් පෙර නුදුටු තරම් බලවත් මල්ල

යුද්ධ දෙකෙක් වූයේ ය. එකකු වත් පස්සට අඩියක් නො තුබූ හෙයින් ජයක් ගැන වචනයෙකුත් නැත. 'අද හිර බසින තුරු ම පොර බැලීම තමා' ය යි බොහෝ කිකිළියෝ කීවෝ ය.

මේ අතර එක් කිකිළියක ගේ පැටවෙක් නුවන හාමි සිටි අසලින් ගියේ ය. හේ නුවණ හාමිට එක කටටත් මදි ය. නුවණ හාමි කුකුළු පැටවා නොහඬන ලෙස කටින් අල්ලා-ගෙන ඈත පඳුරකට ගියේ ය. එහි පිට විය නොහැකි ලෙස, කුකුළු පැටවා රඳවා අවුත් සිටි තැන ම සිටියේ ය. මඳ වේලාවෙකින් කිකිලිය පූතා සොයා ආවා ය. නුවණ හාමි, හඬක් නගන්නට පළමු කිකිළිය ගේ ඔළුව ම කටෙහි ලා අල්ලා-ගන ගොස්, ඇය කුකුළු පැටවා සිටි තැන ම තිබී ය.

නුවණ හාමි ගේ කටින් ගැලැවුණා හා ම කිකිළිය මර හඬ ලන්නටවතිනී ය. ඒ හඬ කුකුළාගමුවට නො ඇසෙයි. නුවණ හාමි ඇයට අවවාද කෙරෙයි. 'මර හඬ ලන්නට එපා. ඉහත දී නම් අපත් පව් කළා හැබැයි , දැන් එ සේ කරන්නේනෑ. මේ ගිය පෝය දත් මා සිල් ගත්තා. මා මේ ඔබ ගෙනාවේ 'දරුවන් රැක බලා ගන්නේ මෙහෙම ද?' කියා අහන්නට යි. මේ ළමයා මේ කැලේ යනවා මාදුටුවා. ඉතින් මෙ තැන තබා, මේ ඔබ එක්ක ආවා බාර දෙන්නට. ළමයින් මේ කැලේ ගියා ම-මා දුටු නිසා හොඳ යි-මුගටියකුට වත්

කපුටකුටවත් අසු වුණොත් ? බය ගන්නට එපා, බය ගන්නට එපා. ළමයාත් එක්ක යන්න. මා ඉන්නා වේලාවෙක විනා වෙන වේලාවෙක නම් ළමයින් මේ දිහාවට එවන්නට එපා.'

කිකිළිය පුදුම වූවා ය. වෙවුල-වෙවුලා නුවණ හාමිට ස්තුති කොට දරුවා සමඟනික්මුණා ය.නුවන හාමි මහත් ආදරයෙන් ඇය ගේ හිස සිඹ, පිට සිඹ, හොට සිඹ, පැටවාට ඊටත් වඩා ආදරය දක්වා,'යන්න දුව, යන්නැ' යි කී ය. කිකිළිය දරුවා සමඟ ඉදිරියෙහි යයි. නුවන හාමි පස්සෙන් යයි. කිකිළිය ගේ ගෙදර ළං වූ විට, නුවණ හාමි යළිත් ඇය ද ඇය ගේ පුතා ද සිඹ සනසා, අවවාද කෙළේ ය.

'හෙට මම යමක් ගෙනත් දෙන්නම්. මේ වාගේ වේලාවට මෙහි ඉන්නැ'යි කියා හැරී ගියේ ය. කිකිළිය පුදුමයෙනුත් පුදුමයට පැමිණ පුතා ද සමඟ ගොස් නෑයන් හා එක් වූවාය.

සිදු වූ සියල්ල කිකිළිය කී විට එකෙකුත් එය විශ්වාස නො කෙලේය. 'මගේ ඇසින් දුට, කනින් ඇසූ, දේ තමා මා කීයේ. ඉතින් විශ්වාස කරනවා නම් කරන්න, නො කරනවා නම් නො කරන්න.' කිකිළිය මෙ සේ කියා තමා ගේ කටයුත්තෙහි යෙදුණා ය. 'හිවලුන් සමඟ යාළු කම් හොඳ නැතැ' යි කියා මහලු කිකිළියෝ ඇයට අවවාද කළෝ ය. 'මීයා ගේත් බළලා ගේත් යාළු කම වැනි ය'යි එකෙක් කීවා ය. කියා ගිවිස්වාගත නොහැකි බැවින්, කිසිවක් නො කීවා ය අර කිකිළි ය.



පසු ද, නුවණ හාමි, පණුවන් ගැසූ මස් කැබැල්ලක් හබරල කොළයෙක ලා-ගෙන කුකුළා ගමුව අසලට ආයේ ය. කිකිළිය ද පැටවුන් සමඟ පුරුදු කැනට ආවා ය. නුවණ හාමි හබරල කොළය බිම හෙළුවේ ය. කුකුළු පැටවු පණුවන් දැක වහා ඇහිඳ කන්නට වූ හ. කිකිළිය ද සැක බිය නැති ව කන්නට වන්නී ය. ඔවුන් කා නිමැවූ පසු නුවණ හාමි කිකිළිය ද සියලු පැටවුන් ද සිඹ සනසා ආදරය දක්වා, නැවැත ද එන බව කියා ගියේ ය.

එ ද ඒ කිකිළිය ගේ කථාව අසා තවත් කිකිළියන් ගේ බඩේ ගින්න ඇති විය. පණු රස

දැනෙන්නාක් මෙන් විය. එ හෙයින් පසු ද කිකිළියෝ කීප දෙනෙක් ම හිවලා එන තැනට ගිය හ. එද නුවණ හාමි ගෙන ආයේ කොයින් දෝ සොයා-ගත් කැරපොතු පොදියෙකි. එහි ගිය සියලු කිකිළියෝ එයින් මහත් ප්‍රීතියට පැමිණියෝ ය, නුවණ හාමි ගේ ආදරය ද වින්දෝ ය. මෙ සේ දින ගණනක් යාමෙන් මුළු කුකුළා ගමුව නුවණ හාමිට ආදරය කරන්නටත් ගෞරව කරන්නටත් පටන්-ගත් හ.

## අභ්‍යාස වැඩ

1. මේවාට වෙන වෙන වචන යොදන්න.
   ගිනි දඬුව, බැහැරෙක, මල්ලයෝ, වේලාවෙක විනා, කා නිමැ වූ පසු, ගිවිස්වා.
2. නුවණ හාමි කිකිළියට අවවාද දුන් හැටියට ළමයකුට අවවාද දෙන්න.
3. නුවණ හාමි කිකිළියට තෑගි හැටියට දෙවලියට ගෙනැවිත් දුන්නේ මොන මොනවාද ?
4. කුකුළු පැටියා කාට කාට අසු වුණොත් ද නපුරක් සිදු වන බව නුවණ හාමි කිකිළියට කීවේ. ?
5. ගොවි හාමි ගේ කර උඩ තිබෙන අර දඬු කැබැල්ල දුටුවාම නුවණ හාමිට මතක් වූණේ මොන මොනවා ද?
6. කුකුළා ගමුවට යන්නට නුවණ හාමි හොඳ ම දවස හැටියට සිතුයේ ඒ ගමේ මොන මොන අයත් දේත් නැති දවස ද?
7. නුවණ හාමි කුකුළා ගමු ගියේ එහු ගේ හාමිනේට තමා කොයි යනවා යි කියා ද?
8. මේවා එක එක යොදා වාක්‍යය බැගින් ලියන්න.
   ළය නිවා-ගෙන, උගුල, කරට කර, ගැලැවුණා හා ම, කටයුත්තෙහි, බඩේ ගින්න, පොදිය.

4. පරිච්ඡේදය

# ස්ථිර විශ්වාසය

කුකුළා ගමුවේ නායකයා මහ මලා නම් ය. ඔහු ගේ කරමල ඉතා මහත් බැවින් ඒ නම විය. ඔහු ගේ දරු මුනුබුරන් ගේ ගණන ඉතා මහති. කුකුළා ගමුවේ වැඩි දෙනා ඔවුනැයි ද කියති. මහ මල් හාමි දැන් මහලු බැවින් පොරට නො යයි. එහෙත් පොරයෙහි දී කිසිවකුට දෙ වැනි නොවන්නා වූ පුත්තු කීප දෙනෙක් ඔහුට වෙති. දූ වරු ද බොහෝ දෙනෙක් වෙත්.

දිනක් මහ මල් හාමි නුවන හාමිට දවල් බතට ආරාධනා කෙළේය ය. 'අප දැන් මස් කන්නෙත් නැ' යි නුවණ හාමි කී ය. 'හා, අප කන්නේ මස් නො වෙයි. ඉඳ-හිට-ලා මස් ලැබුණොත් නො කනවා නොවෙයි. එහෙත් අපට නිතර ලැබෙන්නේ බත් මාළු යි. මහ මල් හාමි මේ සේ කී කල, නුවන හාමි ආරාධනය පිළිගත්තේ ය. මහ මල් හාමි ගේ කෑම නුවණ හාමිට බෙහෙත් වැනි ය. ඒ බව නො හඟවා මහත් ආශාවෙන් කෑම කන්නාක් මෙන් දක්වා නුවන හාමි එදා බඩ ගින්නේ සිටියේ ය. මහ මල් හාමි මහ මල් හාමිනේ ද දරු මුනුබුරෝ ද බඩ පුරා කා දෙඩ-දෙඩ උන්නෝ ය.

'හැබෑවට ම, අප දෙ ගොල්ල සතුරු ව උන් හැටි' යි මහ මල් හාමි මුල පිරුවේ ය.

'ඒක නො වේ නම් ? කිසි වැඩකට ඇති සතුරු කමෙක් යැ' යි නුවණ හාමි හවුල් විය.

'ඉහත සිටි අය ගේ මෝඩ කම් නො වේ යැ? හිවලකු දුටුවා ම කුකුළාට දුවන්නට හිතෙනවා. ඒක නම් ඇත්ත. දැන් නැතත් මට ම එ සේ සිතුණා. කුමට ද බොරු කියන්නේ ? කුකුළකු දුටුවා ම හිවලාට උෟ කන්නට හිතෙනවා ලු. ඒ හැබෑ ද ?'

'කුමන බොරු ද ? එ සේ නම් මට එ සේ සිතෙන්නට එපා යැ ? මා දැන් කෑ හැටි දුටුවා නො වේ යැ ?'

මහ මල් හාමි සිනාසුනේ ය. ඉතිරි සියල්ලෝ ද සිනා සුණෝ ය. 'නුවණ හාමි වාගේ හිවලුන් දහක් දුටුවත් මා නම් දුවන්නේ නැහැ' යි මහ මල් හාමිනේ කීවා ය. ඒ කීමට නුවණ හාමි කොක් හඩ ලා සිනා සුණේ ය.

පසු ද දවල් බතට මහ මල් හාමිට ආරාධනා කොට නුවණ හාමි නැඟී ගියේ ය. කපට හාමි විහිළු හාමි ආදි කීප දෙනෙකුට තමා ගේ අදහස කියා අමුත්තා පිළිගැනීමට සුදුසු කටයුතු ද පිළියෙළ කෙළේ ය. 'මේ අපේ ළමයින් කාරනය දන්නේ නෑ. උන් දුටුවොත් කුකුළු හාමි ගේ පෙදක් වත් ඉතුරු වෙන්නේ නෑ. උන් නොයන තැනෙක අපි කෑම දෙමු.'

මෙ සේ කියා සිවල්ලු හාවලා වල කොනෙක මහ මල් හාමි පිළිගැනීමට සියල්ල සැරැසූ හ.

මහ මල් හාමි සූදුසු වෙලාවට පැමිණියේ ය. වැඩී සිටි සිවල්ලු බොහෝ දෙනෙක් එහි වූ හ. කැරපොත්තන් පණුවන් ආදිය මහ මල් හාමිට ද, ගස් යට වැටුණු වැළ වරකා මිදුළු සිවලූනට ද පිළියෙල කරන ලදී. මහ මල් හාමි කැරපොත්තන් ද පණුවන් ද රාශියක් ගිල දමා මහත් ප්‍රීතියෙන් සිවලූන් සමඟ දෙඩන්නට විය. හිවල්ලූ ද මස් නොකන බව ඔහුට හඟවා වැළ වරකා මිදුළු ටිකක් ලෙව කා දෙඩිල්ලට වැටුණෝ ය. එදා තරම් සංග්‍රහයක් මහ මල් හාමි කිසි කලෙක නොවින්දේය.

'කුකුළක් දුටුවා ම හිවලූනට කන්නට හිතෙනවා ය කියනවා. මට නම් ඔබ දුටුවා ම දුවන්නට යි හිතෙන්නේ' යනුවෙන් නුවණ හාමි මහ මල් හාමි ගේ ඔද වැඩුයේ ය. 'ඇයි, ඒ පය දුටුවා ම මදෑ යි' යනුවෙන් කපට හාමි ඒ කථාවට රුකුල් දුන්නේ ය. විහිළු හාමි දුවන්නට ම සැරසුණාක් මෙන් හඟවා ඒ මේ අත බැලී ය. මහ මල් හාමි හිස කෙළින් කොට-ගත්තේ ය, මදක් සිනා සුණේ ය, තේජස් දක්වා-ගෙන උන්නේ ය.

' මන්ද, ඔබ ගේ ජාතියේ අය මේ පයින් ම ගසන්නේ ?' යි කපට හාමි මෙහි දී ප්‍රශ්ණයක් ඇසීය. ' අනේ මා දන්නේ නෑ. අපට මේ නරක සිරිත් අත් හැර-ගන්න බැරි ව ඉන්නවා' යි කීය මහ මල් හාමි.

හා හා, එ සේ කියන්නට එපා. ඒ නරක සිරිතෙක් යැ? .එයින් පෙනෙන්නේ උසස් ගතිය නො වේ යැ? මෙසේ කියා නුවණ හාමි මහ මල් හාමි ගේ ආඩම්බරය තවත් වැඩි කෙලේ ය. විහිළු හාමි මහත් භය හඟවා ඈත් ව සිට ඔහුගේ පොර කටු අත ගා බැලී ය.

මෙසේ සතුටු බසින් කල් ගෙවා මහ මල් හාමි යන්නට නික්මුණේ ය. නුවණ හාමි දෙසට හැරී හේ මෙ සේ කීයේ ය. 'මන්ද මේ ඔබ පමණක් ම එන්නේ කුකුළා ගමුවට ? මේ යාළුවන් ගේ කැමැත්තෙක් නැද්ද එහි එන්නට ? එන ඉරි ද එනවා නම් හොඳ පොරයක් බලන්නට පුළුවනි. මගේ පුතා, පොර කටුවා, එද අපේ නහා ගේ පුතා, උල් හොටා, සමඟ මහා මල්ල යුද්ධයක් කරනවා. මේ කවුරුනුත් වන්න එය බලන්නට.'

# මඟුල් කෑම

## අභ්‍යාස වැඩ

1. කුකුළා ගමුයේ නායකයා ගේ නම කියන්න. ඌට ඒ නම වැටී ඇත්තේ ඇයි ?
2. මේ අය කාගේ කවුරු ද? පොර කටුවා, උල්හොටා.
3. නුවණ හාමිගේ සංග්‍රහ පළේ දී සිවලුන් වැළ වරකා මිදුළු ලෙව කෑම විතරක් කළේ ඇයි?
4. මේ වායේ අඩු තැන් පුරවන්න.

(1) ඔහු ගේ දරු මුනුබුරන් ගේ .................... ඉතා මහති.
(2) ................. ගේ කෑම නුවණ හාමිට .............. වැනි ය.
(3) මට නම් ඔබ දුටුවා ම .................. යි සිතෙන්නේ.
(4) මහ මල් හාමි හිස ...................... ගත්තේ ය.
(5) අපට මේ ................ අත් හැර ගන්නට බැරි ව ඉන්නවා.

5. මේවා වෙන විදිහකට ලියන්න.
මහලුබැවින් පෝරයට නො යයි, කෑම බෙහෙත් වැනිය, නුවණ හාමි නැඟී ගියේ ය, කතාවට රුකුල් දුන්නේ ය, බතට ආරාධනා කලේ ය.
6. මහ මල් හාමි පිළිගැනීමට හිවලා වල කොනක් වෙන් කොට ගන්නා ලද්දේ ඇයි ?.

## රඟ දැක්වීම

7. මහ මල් හාමිත් හාමිනේත් දරු මුනුබුරනුත් දවල් බතින් පසු කතාවේ යෙදී සිටි හැටි කැර පෙන්වනු.

8. ඒ විදියටම හිවලා වල දී මහ මල් හාමි පිළිගෙන සිවලුන් කතාවේ යෙදී සිටි සැටිත් කැර පෙන්වනු.

5. පරිච්ඡේදය

# සැරසීම

ඒ ඉරි ද කුකුළා ගමුව කුණාටු ද මුහුද මෙන් විය. එක් තැනෙක පොර කටු හාමි පොරයට කලින් ම සැරසෙයි. ඔහු ගේ යාළුවෝ වට ව ගෙන ගුරු කම් දෙති. 'උල් හොට හාමි එ සේ මෙ සේ මල්ලයෙක් නොවේ. මේ කුකුළා ගමුවේ සියලු දක්ෂ මල්ලයන් අතුරින් ඔහු හා සමඟ පොර නො බැදුවේ ඔබ පමණ යි. බැදු-බැදු අය ඔහු අතින් පහර කෑවෝ ය. ඔහු හැර අන් සියල්ලෝ ම ඔබ අතිනුත් පහර කෑවෝ ය. ඔබ දෙදෙනා කරට කර හරි. ඔබ පැරදුණොත් අපට යි ලැජ්ජාව. පහර දෙන්න බලාගෙන යි, පහර වළකන්නෙ බලා-ගෙන යි.

තවත් තැනෙක උල් හොට හාමි කලින් ම පොරයට සැරසෙයි. ඔහු ගේ යාළුවෝ ඔහුට ගුරු කම් දෙති. පහර දෙන සැටි. පහර වළකන සැටි, ප්‍රතිමල්ලයා රවටන සැටි උගන්වති. 'පොර කටු හාමි-අපේ නායකයා ගේ ම පුතා. කිසි කලෙක පැරදුණේ නෑ. ඔබ ඔහුගෙන් ජය ගත හොත් ඔබටත්, ඔබට හිත ඇති අපටත්, එ තරම් ආඩම්බරයෙක් කොයින් ද? දිනන්න ම හිතාගන්න.' මේ ආදීන් උල් හොට හාමි ගේ ධෛර්ය වැඩීමට කී කරුණු අප්‍රමාණ ය.

මඟුල් කෑම

මුළු කුකුළා ගමුව එ ද දෙ පිලට බෙදුණාහු ය. තරුණ කුකුළෝ තම-තමන් කැමති වීරයා ගේ නමට ඔට්ටු දමති. තරුණ කිකිළියෝ තම-තමන් කැමති වීරයා ගේ බල වර්ණනා කොට, ඊට විරුද්ධ දේ කියන්නා සමඟ කලහ කෙරෙති. කුකුළු පැටවු ද, 'අපේ මහ පියාට, අපේ සුළු පියාට, අපේ මාමාට, අපේ බෑයාට ජය වෙයි' යන මේ ආදිය කියමින් මහා කෝලහල කොරෙති.

මහ මල් හාමි ගේ සිහිය එ ද දෙකට බෙදුණේ ය. වරක් සිය පුතා ගේ මල්ල යුද්ධය සිහියට නැගේ, වරක් එ ද එන හිවල් මිතුරනට කල යුතු සංග්‍රහ ගැන සිත නැමෙයි. හේ උත්සාහයෙන් කලබල නො වී, සිත දෙ පළෙහි ම රඳවා-ගෙන කටයුතු කෙළේ ය. පුත්‍රයාට පමණක් නො ව, පුත්‍රයා ගේ ප්‍රතිමල්ලයාට ද, මහ මල් හාමි හොඳ අවවාද දුන්නේ ය.

'මේ එකකු අනෙකා හා වෛරයෙන් බදන පොරයෙක් නො වේ. අප ගේ යුද්ධ දක්ෂ භාවය නොපිරිහී පවතින පිණිසත්, බාලයන් ගේ සිත් ඔසොවනු පිණිසත්, විනෝදය පිණිසත්, අපි පොර බදමු. මේ සියල්ල සම්පූර්ණ වනු පිණිස එක-එකා තමා ගේ යුතු කම් සියලු උත්සාහයෙන් කළ යුතු ය. දිනන්නට ම උත්සාහ කළ යුතු ය. එහෙත් නොතරම් පහරක්

ගසා හෝ, බොරු කියා හෝ, තමා ගේ නමට කිලුටක් නොකරන්නට බලා-ගත යුතු ය.

හිරු උද වී පැයක් පමණ වන විට නුවණ හාමි, කපට හාමි, විහිළු හාමි ආදි වැඩි හිටි හිවල්ලු අට දෙනෙක් කුකුළා ගමුවට ආවෝ ය. එ ද ගොවි හාමි බලූ හාමි සමඟ සිරිත් ලෙස දඩයමට යන දිනයෙකි. එ හෙයින් ඔවුනට භයට කරුණෙක් නැත.

මහ මල් හාමි අමුත්තන් පිළිගෙන වේලාවට සුදුසු සංග්‍රහ කෙළේ ය. එ ද ඔවුන් ගේ පැමිණීම කුකුළා ගමුවට මහත් ගෞරවයක් බව ද කීයේ ය. එ බඳු උත්සව දිනයෙක දී පැමිණ, බොහෝ කළෙකින් දක්නට නොලැබෙන තරම් මල්ලයුද්ධයක් බලා ඉන්නට ලැබීම ඔවුන් ගේ මහත් වාසනාවක් බව අමුත්තෝ කී හ. දෙ පක්ෂයේ ම ප්‍රීතිය ඉතා මහත් ය. දෙ පක්ෂය ම ඔවුනොවුන් ඉතා අගය කොට සැලැකූ හ.

පොරයට ඇත්තේ තව පැයෙකි. කවුරුත් පොර බිම දෙසට ඇදෙන්නට වූ හ. කුකුළු පැටවු පළමු කොට ගොස් හොඳ හොඳ තැන් බලා හිඳ-ගත් හ. ඉක්බිති තරුණ පෙළ ගොස් හුන් හ. කෙළවර වැඩි සිටියෝ එන්නට වන් හ. මහ මල් හාමි ද හිවල් මිතුරන් සමඟ ආයේ ය. වීරයන් දෙ දෙනා, යහළුවන් අතරෙහි සිනා සෙමින්, කවට කම් කෙරෙමින් , මල්ල යුද්ධයක් ඇති බව නොදන්නන් මෙන් සිටිනු දක්නට ලැබිණ.

# මඟුල් කෑම

## අභ්‍යාස වැඩ

1. මේ වචන වෙනුවට සුදුසු වචන යෙදන්න.
දක්ෂ, ප්‍රතිමල්ලයා, මල්ලයෙක්, ධෛර්යය, අප්‍රමාණය, සංග්‍රහ, වෛරයෙන්, ඔසොවනු, දෙ පක්ෂයේ ම.

2. මේ නෑයන් ගේ ඇති නෑ කම අඳුන්වන්න.
මහ පියා, සුළු පියා, මාමා, බෑයා.

3. ඉහත සඳහන් නෑයන් ගෑනු උදවිය නම් ඒ අයට කියන නම් මොනවා ද?

4. කුකුළු පොරය දවසේ මහ මල් හාමි කුකුළාට මොන මොන ඒවාට සීත යවන්නට සිදු වුණා ද?

5. මේවායේ අඩු තැන් පුරවන්න.
මහ මල් හාමි .................. පිළිගෙන වේලාවට සුදුසු ........... කෙළේ ය. දෙ පක්ෂයේ ම .................. ඉතා මහත් ය. .................. පළමු කොට ගොස් හොඳ හොඳ තැන් බලා හිඳ-ගත් හ. මහ මල් හාමි ද ..................... මිතුරන් සමඟ ආයේ ය.

6. තුවණ හාමිත් සමඟ කුකුළා ගමුවට මුලින් ම හිවල්ලු කී දෙනෙක් ගියෝ ද? ඔවුන් ගෙන් කීප දෙනෙකු ගේ නම් සඳහන් කරන්න.

7. එ ද හිවලුන් බිය නැති ව එහි ගියේ ඇයි ?

8. කුකුළා ගමුව කුණාටු ද මූද වගේ වුණේ ඇයි?

6. පරිච්ඡේදය

# පොරය

දැන් පොර බිම කුකුළන් ගෙන් පිරුණේ වෙයි. ඒ අතරෙහි වූ සිවලුන් අට දෙනා ගෙන් ඒ පුදුම උපදවන තැනෙක් වී ය. පොරය පටන්-ගන්නට මදක් කලින්, ඒ තැන නායක කම, සෙස්සවුන් ගේ ද කැමැත්ත ඇතිව, මහ මල් හාමි විසින් නුවණ හාමිට පවරන ලදි.

නුවණ හාමි ඉදිරියට අවුත් පොර මඩුල්ල මැදි කොට වටා ඉරක් ඇන්දේ ය. ඉක්බිති මල්ලයනට සැරැසෙන්නට කියා, වේලාව එන තුරු මදක් සන්සුන් ව සිටියේ ය. වටා සිටි මහ පිරිස හිස් ඔසොවා කර දික් කොට-ගෙන බලා හුන් හ. ඒ සා මහත් පිරිසින් දැන් මඳ ශබ්දයකුත් නො නැඟෙයි. සැණෙකින් 'එක යි, දෙක යි, තුනයි, වදිනු ' යනු ඇසිණ. ඒ තැන් සිට පොර මඩුල්ල ඇත්තෙන් ම පොර මඩුල්ලෙකි.

පළමු කොට වීරයෝ දෙ දෙන හොර ගල් අවුළන්නට පටන්-ගත් හ. දෙකක් තුනක් ඇවුළූ පසු එක-එකා මහත් ජය නාදයක් කෙරෙයි. යළිත් ගල් අවුළන්නට පටන්-ගනී. මෙ සේ කීප වරක් කළ ඉකිබිති, දෙ දෙන එක් වර ඉදිරියට අවුත්, හොටින් හොට ගසා, ඉක්බිති ඔවුනොවුන් මුහුණ බලා සිටිය හ. මේ, ඔහුට පහර දෙන්නට කුරුමානම් බලයි.

හේ මොහුට පහර දෙන්නට කුරුමානම් බලයි. මේ, ඔහු ගේ පහරට මඟ හරී. හේ මොහු ගේ පහරට මඟ හරී. මෙ සේ මේ දෙ දෙනා සරි සරි ව සිටින කල්හි, මහ පිරිස හඬක් නො නඟා ඇසිපිය නො හෙළා බලා සිටිති.

බොහෝ වේලා ගත වූ හෙයින් දැන් දෙ දෙනා ගේ ම ඉවැසිලි නැති වී යයි. එ හෙයින් දෙ දෙන ම කෙසේ නමුත් පහර දෙන්නට බැලූ හ. පහරින් ගැලැවීමට වඩා පහර දෙන්නට ම බැලීමෙන් දෙ දෙනාට ම පහර හත අට වැදුණේය. දෙ දෙනා ඔවුනොවුන් ගේ කර මල හොටින් අල්ලා-ගෙන ඒ මේ අත අදින්නට වූ හ. දෙ දෙනා ගේම කර මලින් ලේ ගලන්නට විය. එහෙත් එකෙකුදු පසු නො බැ ය.

ඉක්බිති උල් හොට හාමි පසු බස්නා බවක් හැඟවීය. පොර කටු හාමි ගේ පක්ෂයේ අය ප්‍රීති නාද පවත්වන්නට වූ හ. පොර කටු හාමි ද 'ප්‍රතිමල්ලයා දුර්වල වූ හ.' යි සිතා තව-තවත් වැරින් පහර දෙමින් ඉදිරියට ගියේ ය. උල් හොට හාමි මදින් මද පසු බැස ගොස් හොඳට එල්ල බලා දුන් පහරට පොර කටු හාමි ඈත ගොස් වැටුණේ ය. මේ වර උල් හොට හාමි ගේ පක්ෂයෙන් නැඟුණු ජය නාදය කන් බිහිරි කරන තරම් ය. එහෙත්. ඒ මොහොතකට පමණෙකි. තමා රැවටුණු බව දැන-ගත් පොර කටු හාමි, විදුලියක් මෙන් ඉදිරියට පැන්නේ ය.



නැවත ද දෙ දෙනා හොර ගල් අවුලන්නට වූ හ, නැවැත ද පහර දෙන්නට වූ හ, නැවත ද කරමලින් අල්ලා ඒ මේ අත අදින්නට වූ හ. මුළු පොර මඩුල්ලම ඒ දෙ දෙනාගේම කුඩා මහත් පෙදින් වැසි-ගියේ ය. දෙ දෙනා ගේම ශරීර ලෙයින් තෙත් විය. හිර මුදුනට එන්නට ද දැන් ළඟ ය. එක් එක් පක්ෂයේ අය තම-තමන් ගේ වීරයාට ධෛර්ය උපදවන වචන කී හ. කුමක් කීවත්, කුමක් කළත්, එක් පක්ෂයකට වත් ජය නම් ළං නූවුයේ ම ය.

පිරිසෙහි දැන් කිසි ඉවැසිල්ලෙක් නැත. එකකු හුවා අනෙකා හෙළා දෙඩීමක් කිසිවෙක් නො කෙරෙත්. 'දෙ දෙනා ම හපන්නු, කරට කර, බරට බර, පොරට පොර. පොර බදනොත් මේ වාගේ අය තමා. තවත් කුමකට පොර බදනවාද? අදත් බද, හෙටත් බැඳුවත්,

අවුරුද්දක් බැදුවත්, මෙ පමණ තමැ, දිනුම් පැරදුම් නැ මෙ සේ නොකී කුකුළෙක් කිකිළියක් නැත. අන්තිමයේ දී නායකයාට ද මෙසේ නො කියා බැරි විය.

සියල්ලන් ගේ ප්‍රීති නාද මධ්‍යයෙහි නායකයා පොරය නැවැත්වී ය. දෙ දෙනා ම නියම වීරයන් බවත්, එ බඳු පොරයක් මේ මුත් නුදුටු බවත් කියා හේ මල්ලයන් දෙ දෙනාට බොහෝ ප්‍රංශසා කෙළේ ය. සියල්ලෝ ම ඔවුනට ආදරය කළ හ. ගෞරව දැක්වූ හ. ඉක්බිති පොර බිම හිස් විය. අමුත්තෝ, කල සත්කාර විඳ, මහ මල් හාමි ආදීන් ගෙන් අවසර ලැබ, ගෙදර බලා පිටත් වූ හ.

### අභ්‍යාස වැඩ

1. මේ වචන වෙනුවට වෙන වචන යොදන්න.

   සෙස්සවුන් ගේ, පොර මඩුල්ල, එ සා, පසු නො බැස, හැහවී ය, පක්ෂයේ, පොදින්, හුවා, මධ්‍යයෙහි, ප්‍රශංසා.

2. කුකුළු පොර බිමේ නායක කම පැවැරුණේ කාට ද?

3. පොර කොටා-ගත් කුකුළු වීරයන් දෙ දෙනා ගේ නම් සඳහන් කරන්න. ඔවුන් දෙ දෙනා ගෙන් දිනුයේ කවරෙක්ද?

4. මේ වචන යොදා වාක්‍ය තනන්න.

   වීරයෝ, ඔවුනොවුන්, ප්‍රීති නාද, එල්ල බලා, විදුලියක්, පොරය, හිස් විය, අවසර.

5. මේ වාක්‍ය වෙන විදියකට ලියන්න.

(1) පොර මඩුල්ල වටා ඉරක් ඇන්දේ ය.

(2) එකෙකුදු පසු නො බැ ය.

(3) ප්‍රතිමල්ලයා දුර්වල විය.

(4) පක්ෂයේ අය ධෛර්ය උපදවන වචන කී හ.

(5) අමුත්තෝ ගෙදර බලා පිටත් වූ හ.

6. මෙහි සංස්කෘත වචන වෙනුවට යොද ඇති තනි සිංහල වචන පුරුදු වන්න. ඊට පසු ඒ වචන යොද වාක්‍ය තනන්න.

(දුර්වල) දුබල.
(ධෛර්ය) දිරිය.
(ප්‍රතිමල්ලයා) පිළිමලා.
(මධ්‍යයෙහි) මැද්දේ.
(ප්‍රශංසා) පැසසුම්.

7. පරිච්ඡේදය

# මඟුල් දෙඩුම

හිවලුන් ගේ ද කුකුළන් ගේ ද මිත්‍ර ධර්මය ක්‍රමයෙන් වැඩුණේ ය. කුකුළු ගෙදර හිවල්ලු ද, හිවල් ගෙදර කුකුළෝ ද නිතර දක්නට ලැබෙති. හිවල් කුකුළු යාළු කම ගුරු කමකට ගන්නට තරම් ස්ථිර වන්නා සේ පෙනී-ගියේ ය. ඒ කෙසේ වුව ද, ගොවි හාමි හෝ බලූ හාමි හෝ මේ කිසිවක් නො දනී.

දිනක් කපට හාමි තෑගි බෝග ද ගෙන කුකුළා ගමුවේ මහ මල් හාමි දකින්නට ගියේ ය. ඔහු කුකුළා ගමුවට යාම අරුමයක් නුවූ නමුත්, එ ද නම් ඔහු ගේ ගති මදක් අමුතු ය. දුටු දුටු අයට හේ එද හිස පහත් කෙරෙයි, ආදරය හඟවන වචනයක් කියයි, නිකම් ම සිනා මුහුණ දක්වයි, යමක් කියන කල අදී, පදී, යම් කිසිවක් කියන්නට ඉතිරි වූ බව හඟවයි. මහ මල් හාමිට ඒ බව හොඳට හැහෙයි, මහ මල් හාමිනෝටත් හැහෙයි. වෙන දෙඩුම් කුමට ද? කපට හාමිට මත් ඒ බව හැඟීමෙන් නම් අඩුවෙක් නැත.

මහ මල් හාමි මේ රහස අවුස්සා බලන්නට සිතුවේ ය. 'මන්ද' මේ වචනයට වචනය කෙළින් නො කියා, ටිකක් ඉතිරි වුණා වගේ දෙඩන්නේ?' ය යි හේ කපට හාමි ගේ මුහුණ බලා ඇසී ය. 'නෑ රාලහාමි-මහ මල් හාමිට කවුරුත් රාලහාමි ය කියති-මගේ හිතේ කිසි කහටක් නෑ.

මා අද ආවේ නම් හොඳ කාරණයකට යි. එය කියන්නට අවසරයක් නැතිව හිටියා ය' යි කපට හාමි හොඳට ම නළවා කී ය.

' ඒ කාරණය කියන්න, කියන්න. අප අතරේ වෙනසෙක් ඇතෑ?'

කපට හාමි ඒ මේ අත ඇඹැරෙන්නට වූ යේ ය.

' නෑ, නෑ, සැකක් හිතන්නට එපා. කියන්න, කියන්නැ, යි මහ මල් හාමි නැවත නැවතත් කපට හාමිගේ කටට පණ පෙවුවේ ය.

කපට හාමි අදිමින් පදිමින් ම තමා ආ කාරණය කියන්නට පටන්-ගත්තේ ය. ' අපේ රාලහාමි ගේ පුතා දන්නවා නො වෙ යැ?,

' ඔව්, ඔව්. අර හීන් හාමි' යි මහ මල් හාමි උත්තර දුන්නේ ය. හීන් හාමි නම් නුවන හාමි ගේ පුතා ය.

කපට හාමි යළිත් දෙඩන්නට වන්නේ ය. ' ඉතින් ඒ ළමයාට දැන් හොඳ වයස. සරණක් කැර දෙන්නට මේ රාලහාමි සමඟ දෙඩන්නට යි ආවේ.'

' බොහො ම හොඳා. අපිත් පුළුවන් යමක් කරන්නමු. මේ ගමින් ඉතින් පුළුවනෑ? මෙහි නැති නො වෙ යැ ඒ ජාතියේ අය?'

මහ මල් හාමි මෙසේ කී කල, කුමන ජාති ද, රාලහාමි'යි කියමින් කපට හාමි හිස කසන්නට වන්නේ ය.

මහ මල් හාමි මදක් සිතිවිල්ලේ සිට, 'ඉතින් අපට කිමෙක් ද, කරන්නට කියන්නේ? ය යි ඇසී ය.

' කරන්නට කියන්නේ? ඇයි, රාලහාමි ගේ ළමයා - පොඩි හාමිනේ - අපේ රාලහාමි ගේ ළමයාට දෙනවා නරක ද?'

මෙ බඳු වචනයක් කියති යි කිසි කලෙක නො සිතූ මහ මල් හාමිට මේ ඉතා අමාරු තැනෙක් වී ය. හේ හිස පහත් කොට-ගෙන ඇස් අඩක් වසා-ගත්තේ ය. කපට හාමි හොර ඇසින් බලමින් ඔහු ගේ සිතුවිලි මැනුගත්තේ ය.

' මන්ද රාලහාමි, තරහ වුණා වගේ ඉන්නේ?' යයි ද ඇසී ය.

' නෑ, මා තරහ වුණා නො වෙයි. මා මේ කල්පනා කළේ අප දෙ ගොල්ල කො පමණ යාළු වුණත්, ඉහත දී සතුරුව සිටි බව. මේ නොපෑහෙන තැනට පෑහීමක් නො වේ ද ?'

෴

කපට හාමි සිනා සුණේ ය. 'බලන්න, ඉතින් රාලහාමි වැන්නනුත් මෙ සේ කල්පනා කරන කල, කුමක් කිය හැකි ද? නොදන්නා කාලේ සතුරුව සිට පසු ව යාළු වූ අය අතරේ හිර ගනු දෙනු නැද්ද ?'

' කො පමණ වත් වෙනවා. එහෙත් අපේ එ පමණ යෑ ? අපේ ජාති දෙක හොඳට ම වෙනස් නො වේ යෑ ?'



' මා හිතුවේ රාලහාමි මීට වඩා අලුත් පිළිවෙළේ කටයුතු ගැන දන්නවා ච කියා. වෙනස් වෙනස් ජාතිවලින් හිර ගනුදෙනු නො වේ ද හොඳ ය කියන්නේ ? එයින් ඇතිවන දරුවන් ගේ නුවණ වැඩි වූ. ශරීර ශක්තිය වැඩි වූ. ඇයි, රාලහාමි අසා නැද්ද?'

කපට හාමි දක්වන කරුණු බිඳින්නට මහ මල් හාමි අසමර්ථ ය. එ හෙයින් ඒ බව වසන්නට මහ හිනාවක් කොට, මෙ සේ කී ය. ' මා දන්නවා. එ සේ වුවත් කල්පනා නො කැර හොඳ නැති නිසා මා මේ කීවේ. හොඳා අපි හාමිනේ ගෙනුත් අසා බලමු.'

මහ මල් හාමිනේට මේ මඟුල් යෝජනාව කී කල, යන අත බලා-ගත නොහැකි ව සැමියා ගේ මුහුණ බැලුවා ය. ' කුමට ද, මා දිහා බලන්නේ ? අප දෙඩා ගෙන ඉවර යි. ඔබ ගේ අදහස යි දැන් වුවමනා' යි හේ කී ය. මහ මල් හාමිනේ ඊට සිනා වුණා ය. ' එ සේ නම්, අනේ. අපෙන් කුමක් අසන්නට ද? හොඳ කටයුත්තකට තමා අපේ කැමැත්ත. හොඳ හැටියක් කරන්නැ යි කීවා ය.

' හා, ඉතින් හාමිනේ කැමති නම් තවත් බලන්නට දෙයක් ඇද්දැ ? යි කියා කපට හාමි ඔඩොක්කුවෙන් කොළ කැබැල්ලක් ඇද ගත්තේ ය. 'මා දන්නවා මෙය නොවරදින බව.

ඒ නිසා අර ළමයා ගේ හඳහනත් ඉල්ලාගෙන ආවා. කෝ දෙන්න පොඩි හාමිනේ ගේ හඳහනත්'.

මහ මල් හාමිනේ දුව ගේ හඳහන ද ගෙනැවිත් දුන්නා ය. කපට හාමි හඳහන් බලා, එ තරම් ගැලපෙන හඳහන් දෙකක් කිසි කලෙක නුදුටු බව කියා එය මල් හාමි ගේ අතට දුන්නේ ය. මහ මල් හාමි හඳහන් බැලීමක් නො දත් නමුත්, කපට හාමිගේ කීම හරි බව කී යේ ය.

' බලන්න, රාලහාමි, අප දෙ ගොල්ලට ළං වන්නට කෙනෙකු නැති ව යනවා. මේ හඳහන් දෙකේ හැටියට මේ ළමයින් දෙන්නා බොහෝ ම උසස් වේවි. අප දෙගොල්ල ගැනරටේ කියන කතා අනෙක් අතට හැරේවි. ඉතින් අපට වුව මනා මේ බැඳෙන දෙ දෙනා

ගේ කැමැත්ත බැලීම යි. මෙ සේ කියා කපට හාමි ඒ දෙ දෙනා මූණ ගස්සන්නට දිනයක් නියම කැර-ගෙන නැඟී ගියේ ය.

## අභ්‍යාස වැඩ

1. කපට හාමි තෑගි බෝග ද ගෙන මහ මල් හාමි ගේ ගෙදර ගියේ කුමක් කතා කරන්නට හිතාගෙන ද? එහෙම කතා කරන්නට යන්නාට දැන් කියන නම කිමෙක් ද?

2. හීන් හාමි කියන්නේ කාට ද?

3. මේ විදියට කතා කළ අය කවුරු ද?

   (1) මන්ද මේ වචනයට වචනය කෙළින් නොකියා ටිකක් ඉතිරි වුණා වගේ දෙඩන්නේ?

   (2) නෑ, රාලහාමි, මගේ හිතේ කිසි කහටෙක් නෑ.

   (3) මෙහි නැති නො වේ යැ (නොවැ) ඒ ජාතියේ අය?

   (4) මේ නොපෑහෙන තැනට පෑහීමෙක් නො වේ ද?

   (5) අපට වුව මනා මේ බැඳෙන දෙ දෙනා ගේ කැමැත්ත බැලීම.

4. මේවායේ අඩු තැන් පුරවන්න.

   (1) ................ අදිමින් පදිමින් ම තමා ආ කාරනය කියන්නට පටන්ගත්තේ ය.

(2) හීන් හාමි නම් ................................ ගේ පුතා ය.

(3) හේ හිස පහත් කොට-ගෙන ඇස් අඩක් ......................

(4) අපේ ...................... හොඳට ම වෙනස් නො වේ යැ?

(5) කුමකට ද මා දිහා .............. අප ................ ඉවරයි.

5. මේ වචනවල වෙන වචන යොදා ඇති හැටි බලන්න.
මිත්‍ර ධර්මය - යාළු-කම් පැවැත්වීම.
ක්‍රමයෙන් - ටිකෙන් ටික.
ස්ථිර - නොසෙල්ලෙන එකක් බවට පත්.
අසමර්ථ - පිළිවන් කමක් නැති (බැරි)

6. ඒ වචනවලට නියම තනි සිංහල වචන යොදා ඇති සැටි බලන්න.
මිත්‍ර ධර්මය - මිතුරු දහම (මිත් දම).
ක්‍රමයෙන් - කෙමෙන්.
ස්ථිර - තිර.
අසමර්ථ - අසමත්.

7. මේ සිංහල වචනවලට වෙන වචන යොදා ඇති සැටි බලන්න.
අරුමයක් - පුදුමයක්.
අවසරයක් - ඉඩක්.
දෙඩන්නට - කතා කරන්නට.
අඩක් - බාගයක්.
සැමියා - හිමියා.

8. පරිච්ඡේදය

# කැමැත්ත

නියම දින හීන් හාමි නෑයන් කිහිප දෙනෙකුත් සමඟ මහ මල් හාමි ගේ නිවෙසට පැමිණියේ ය. ගෙ-හිමියෝ ආදරයෙන් අමුත්තන් පිළිගත් හ. වේලාවට සුදුසු සංග්‍රහ විඳ අමුත්තන් හුන් කල්හි, කපට හාමි මහ මල් හාමි ගේ කනට කොඳුරා යම් කිසිවක් කීයේ ය. මහ මල් හාමි හිස සලා ගෙට ගොස්, හාමිනේට යම් කිසිවක් කියා අවුත් හිඳ-ගත්තේ ය. සියල්ලෝ ම නිශ්ශබ්ද වූ හ.

මඳ වේලාවකට පසු මහ මල් හාමි ගේ දුව, පොඩි හාමිනේ, මවත් සමඟ පෙනුණා ය. ඈ ආවා නොවේ. මව ගේ උත්සාහයෙන් එවුණා ය. අමුත්තනට පෙනෙන්නට වූ කල පොඩි හිමිනේ දෑස නො දල්වා මුහුණ බිමට හරවා-ගෙන යන්තම් ඉදිරියට ආවා ය.



මව අමුත්තන් හඳුන්වා දුන්නී ය. දුව ඒ එක එක අමුත්තාට ආචාර පවත්වා මව ගේ නියමය පරිදි පසෙකින් හිඳ-ගත්තා ය. 'අපටත් මුල දී ලජ්ජා තමා' ය යි විහිළු හාමි කීයේ ය. එයින් මහ හිනාවක් ඇති විය. පොඩි හමේනේ ද හිනා එන බව හඟවන්නට උත්සාහ කළා ය.

මඳ වේලාවකට පසු, 'අපට කටයුතු බොහො ම යි' යනු කියමින් මහ මල් හාමිනේ නැඟී සිටියා ය. දුව නැඟී මව පසු කොට-ගෙන මුවාවකට වන්නී ය. අමුත්තෝ ද නැඟී මඳක් ඈතට ගොස් රහස් කියන්නට වූ හ. මහ මල් හාමි නෑයන් සමඟ ඉදිරියට තුබුණු කටයුතු සම්පූර්ණ කිරීමෙහි යෙදුණේ ය.

'යස කෙඳිරියක් නො වෙ යැ ? කුමක් වුණා ද, ළමයා ?' මෙ සේ මව නොයෙක් විට කී නමුත් පොඩි හාමිනේ ගේ කෙඳිරිය නොනැවතුණේ ය. 'මට බය යි, අනේ, අම්මේ, මට නම් බැහැ' යි ද ඕ කීවා ය.

'කුමට ද, ළමයා, බය?'

'බය අර ඇසේ රළුව දැක්කා ම, අර කටේ දිග දැක්කා ම, අර දතේ උල දැක්කා ම, අම්මා ගේ හිතෙත් බය නැද්ද?'

'බොරු නො දෙඩා නිකම් ඉන්න ළමයා. මට ඇති බයක් නෑ. හොඳ ළමයින් මා-පියන් ගේ කීමට කීකරු වෙනවා.'

ඒ කුමක් කීවත් පොඩි හාමිනේ ගේ කෙදිරිය නො නවතී. මහ මල් හාමි ද පැමිණ දුවට අවවාද කරන්නට වූයේ ය. නුපුරුදු කෙනෙකුට බය සිතුම ගැනු ගතිය තමා. අපි ඔබට අහිතක් කරමු ද? මේ සම්බන්ධයෙන් අප සියල්ලන් හට ම වන්නේ යහපතකි. ඔබ උපන් කාලයේ ම අපට දැනුණා, මේ කුකුළා ගමුවේ කිසිවකුට නොගිය තරම් හොඳ කලක් ඔබට යන බව. හැබැයි සැප ලැබුණා ම, සැමියා නිසා ආඩම්බර වී, අප මතක නැති කරන්නට එපා.'

පියා ගේ වචනයෙන් පොඩි හාමිනේ ගේ සිත මඳක් පිපුණේ ය. එහෙත් ඇයට පෙනෙන්නේ අර ඇස මය, අර කට ම ය, අර දත ම ය. එහෙයින් කෙඳිරිය සම්පූර්ණයෙන් සුව නො වී ය. නැන්ද ද අවුත් අවවාද කළා ය. මාමා අවුත් විහිළු කෙළේ ය. ' මේ හොරා! මැට රැවැටුණා ද? මෑ මීට හොඳට ම කැමැති යි: හොරට අකැමැති බවක් පෙන්වනවා. ඉතින් ඔය බොරුවට නො රැවටී අපේ කටයුතු කරමු.' මෙයින් එ තැන ඇති වූ බොහෝ අමාරු කම් නැති වී ගියේ ය. සියල්ලන් ගේ කරදරයෙන් මෙන් ' ඔව් ' යන්නෙක් ද, ' කැමති ' ද? යන ප්‍රශ්නයට උත්තර වශයෙන් පොඩි හාමිනේ ගේ කටින් නිකුත් විය.

දෙ පක්ෂයේ අය නැවැතත් එක් තැන් වූ හ. 'අපේ ළමයා නම් කැමැති යි' යනුවෙන් විහිළු හාමි දෙඩුම පටන්-ගත්තේ ය. ' අපේ ළමයා අකැමති වේ

වේ දැ ? යි මහ මල් හාමි කියා හිස ඔසවා බැලී ය. සියල්ලෝ ම ප්‍රීතිය ප්‍රකාශ කළෝ ය. විහිළු හාමි නැඟී සිට, ප්‍රස්තාවයට සුදුසු දේශනාවක් කෙළේය. ඉක්බිති භෝජන සංග්‍රහය වී ය.

නැවැත ද වරක් පොඩි හාමිනේ අමුත්තන් ඉදිරියට ආවා ය. හීන් හාමි නැඟී සිට තම අතෙහි වූ මල් දමක් පොඩි හාමිනේ ගේ ගෙල වටා දැමී ය. කැරපොත්තන් පොදියක් ද දුන්නේ ය.පොඩිහාමිනේ ද මව ගේ නියමය පරිදි කුකුළු පියා පතක් හීන් හාමි ගේ වලගෙහිපැලැන්දුවා ය.ඉකිබිති අමුත්තෝ මහ මල් හාමි ආදි පිරිසට ආචාර දක්වා, අවසර ගෙන නික්මුණාහ.

## අභයාස වැඩ

1. හීන් හාමි ගේ කවර දේ දුටුවා ම ද පොඩි හාමිනේ ට බිය සිතුණේ ?

2. හීන් හාමි පොඩි හාමිනේ ට දුන්නේ මොනවා ද?

3. පොඩි හාමිනේ හීන් හාමිට පිළිගැන්නුවේ මොනවාද ?

4. පොඩි හාමිනේ කී වාරයක් අමුත්තන් ඉදිරියට ආවා ද?

5. මේ වචන ඉගෙන ගන්න.

   නිවෙසට :- ගෙට

   ගෙ-හිමියෝ :- ගෙය අයිති කාරයෝ.

   නිශශබ්ද වූ හ :- හඬක් නො නහා උන්නෝ ය.

## කැමැත්ත

| | | |
|---|---|---|
| උත්සාහයෙන් | :- | වෑයමෙන් |
| මුවාවකට | :- | වැසුණු තැනකට. |
| සම්බන්ධයෙන් | :- | හොඳට බැඳීමෙන් |
| ප්‍රස්තාවයට | :- | එතැනට. එ වේලාවට. |
| මල් දමක් | :- | මල් මාලයක්. |
| ගෙල වටා | :- | බෙල්ල වටේ. |
| වලගෙහි | :- | නහුට අග. |

6. මේ වචන යොද වාක්‍ය ගළපන්න.
අමුත්තන්, ගෙ-හිමියන්, මුවාවකට, කෙදිරියක්, රළුව.

7. කෙදිරි ගගා උන් පොඩි හාමිනේ ට අවවාද කළ අය කවුරුද?

8. පොඩි හාමිනේ ගේ මාමා කළ කතාව ලියන්න.

෩. පරිච්ඡේදය

# හිවලා වල පෙර මඟුල

එදා හිවලා වල ඉතා කලබල සහිත ය. කෑමක් බීමක් ගැන සිතන්නෙක් නො වී ය. 'බලා-ගෙන යි, ඉක්මන් වෙන්න එපා' ය යි තරුණ හිවලුනට වැඩි සිටියෝ අවවාද කෙරෙති. 'කවුරු දනිද්ද? කිමෙක් වේදැ? යි කියමින් ඇතමෙක් සිතේ සැකය පහළ කෙරෙති. 'ඔව්, ඔව්. තව ම ලැබුණා යැ? කොයි සැටි වුණත් හිත පහන් කොට ගැනීම යි හොඳ' යනුවෙන් ඇතැමෙක් මතය අනුමත කෙරෙති.

ඇතැම් තරුණ හිවල්ලු සන්සුන් බව නො දත් හ. 'මට හොඳ තර දෙන්නෙක්' ය යි එකෙක් කියයි. 'වෙන ද මෙන් මගේ දේ උදුරා-ගන්නට නො එතු' යි මඳක් දුබල වූවෙක් පවසයි. 'අද ඔබ ගේ දේ අපට ඕනෑ' ය යි අනෙකෙක් දුබලයා සනසයි. සියල්ලෝ ම සිනා සෙති, තලු ගසති, තොල ලොවිති. 'කෑම කෙළවර නම් පැන් බොතු' යි එකෙක් විහිළු කෙරෙයි.

නුවණ හාමි ගේ මුහුණ එ ද ප්‍රීතියෙන් පිපුණේය, දෑස බැබැළුණේ ය. විහිළු හාමි, කපට හාමි ආදි වැඩි සිටි කිහිප දෙනෙක් ද එහි වූ හ. නුවණ හාමි විහිළු හාමි දෙස රහස් බැල්මක් හෙළී ය. මෙසේ ද කී ය:-

'ඔබ අද මඟුල් කෑම කනවා යැ ?'

'ඇයි, නැත්තේ ?' ය යි විහිළු හාමි පුදුම වූවකු මෙන් ඇසී ය.

'කතාවා නම්, එ ද මට විහිළු කෙළේ ?'

'ඉඳ-හිට-ලා විහිළුවකුත් නැත් නම් කවර අගයෙක් ද?'

මෙහි දී කපට හාමි ද දෙඩුමට වැටුණේ ය.

'හා, හා, හා ටිකක් බලා-ගෙන යි. ගොවි හාමිත් එහි, බලු හාමිත් එහි. පුතාට ගිය කල මතක නැද්ද?'

නුවණ හාමි ඇස ඔරවා දෙඩී ය. 'පුතාට ගිය කල ඒ එ ද. අද අපට එ වැනි කලක් ගියොත් මගේ නාමේ මුලට අකුරක් එකතු කරන්නට කීවා නො වේ යැ ?'

'එ බඳු කලක් ගියාට පසු අකුර එකතු කළායින් ඇති පලය කිම ?'

'අනේ, කපට හාමි, කුකුළා ගමුවටත් කීප වරක් ම ගොසිනුත්, අපට කළ සැලැකිලි දැකත්, තවමත් මේ තරම් සැක ද ? සැක නම් මෙහි නවතින්න. අප යනවා.'

'නෑ. උදහස් වෙන්නට මා කීවා නො වෙයි. කුමක් වුවත්, පරෙස්සම් සහිත වීම ඔබ ගේ නමට හොබී.'

කපට හාමි ගෙන් ඒ පිළිබඳ දෙඩුම කෙළවර විය. කවුරුත් ගමනට සැරසෙන්නට වූ හ. මනමාලයා ගේ සැරසිල්ලට බොහෝ වේලා ගත විය. ඔහුට කීප දෙනෙක් උපකාර කළ හ. හේ මනා ලෙස සැරසී,

අසල වූ ගල් කෙමට ගොස් දියෙහි තමා ගේ පිළිබිඹුව බලා, හිස කෙළින් කොට-ගෙන, සෙසු තරුණ සිවලුන් අතරෙ හි ඔබ මොබ යන්නට විය. මනමාලයා දෙස බැලූ ඇතැමෙක් කර බා ගත් හ: ඇතැමෙක් ඉඟි මරා, යටි තොල දික් කොට, අසල සිටියවුන් දෙස බැලූ හ: ඇතැමෙක් ඔවුනොවුන් හා රහස් කියන්නට වූ හ.

'.දැන් හරියට ම මනමාලයා වාගෙයි ' යනු එකකු ගේ මුවින් පිට විය. ' නැත් නම් ?' ය යි කියමින් මනමාලයා එ දෙසට හැරී සිනා සුණේ ය. 'මනාමාලිත් කැන්ද-ගෙන අද එන කල දැසින් කෙසේ බලන්නට දැ ?' යි එකෙක් ඇද-ඇද කී ය. මීට කවුරුත් සිනා සුණෝ ය. ' හැබැවට ම මනාමාලිය කටින් ද ගෙන එන්නේ ?' ය යි එකකු ඇසූ කල, මනමාලයා උදහස් වුණේ ය. ' නෑ .අපි මනමාලයා කුකුළා ගමුවේ නවත්වා එමු' යි එකකු කී බසට, මනමාලයා ගැස්සී සිටියේ ය. ' බලාගෙන යි. වැඩි විහිළු හොඳ නෑ ' ය යි අසලින් ගිය නුවණ හාමි කී බසින් තරුණ පෙළ විසිර ගියෝ ය.

ගමන ආරම්භ විය. පණුවන් කදෙක් ද, කැරපොත්තන් කදෙක් ද, පළමු කොට පිටත් විය. බෙර වයන, නළා පිඹින, නටන පිරිසෙක් ඒ ළඟට තික්මුණ හ. වීණා වයන සින්දු කියන කිහිප දෙනෙක් තුන් වැනි ව ගිය හ. ඉක්බිති පැමිණියේ මනමාලයා ය. පෙල ගැසුණු ඔහු ගේ නෑදෑ පිරිස

ඔහු පස්සනේ වැටුණා හ. ඉතා මහලු වූවන් ද කුඩා දරුවන් ද හැර, ඉතිරි සිවලුන් ගෙන් එද හිවලා වල නැවැතුණු එකෙකුත් නැති.

## අභ්‍යාස වැඩ

1. මේවා ඉගෙන ගන්න.
   (1) මතය අනුමත කෙරෙති :- ඒ අදහස සරිය කියා එයට එකඟ වෙති.

   (2) කැම කෙළවර නම් :- කාලා ඉවර නම්.

   (3) පලය කිම :- වැඩේ කිමෙක් ද ?

   (4) ඒ පිළිබඳ දෙඩුම :- ඒ තැන කතාව.

   (5) පිළිඹුව බලා :- සෙවණැල්ල බලා.

   (6) රහස් බැල්මක් :- හොර බැල්මක්.

2. මේ වචන යොදා වාක්‍ය තනන්න.
   ඇතැමෙක්, දුබලයා, ඔරවා, උදහස්, ගල් කෙම, මුවින්, වයන, සන්සුන්,

3. හිවලා වල කලබල සහිත වූයේ හිවලුන් කුමකට යන්නට සැරසෙන විට ද?

4. 'මට හොඳ තර දෙන්නෙක් ' යි එකෙක් කියයි. ඒ විදිහට කීයේ කුමන එකෙක් ද? තර දෙන්නෙක් කීයේ තර වූ කුමනවුන් දෙ දෙනෙකු ගැන ද?

5. 'දැන් හරියට මනමාලයා වගෙයි' කීයේ කාට ද?

6. මනමාලයා පිටත් වන විට ඔහුට පළමු ගමන් කළ අය සඳහන් කරන්න.

7. මනමාලයා සහිත පිරිස පිටත් වී ගිය පසු හිවලා වල ඉතිරි වූවෝ කවුරු ද?

8. හිවල් මනාලයා ඇඳ පැලඳ ගෙන ඔහු ගේ මූණ බැලූයේ කිමෙකින් ද? මිනිසුන් මූණ බලන්නේ කිමෙකින් ද ?

10. පරිච්ඡේදය

# කුකුළා ගමුවේ පෙර මඟුල

හිවලා වල කුමන මඟුල් ද? හරි මඟුල් කුකුළා ගමුවේ නො වේ ද? එ දින කුකුළා ගමුව නුදුටු කෙනෙකුට සියල්ල වූ සැටියට විස්තර කැර දීම කිසි සේත් කල නොහැකි ය. මනාලියගේ පක්ෂය වඩා විසිතුරු ලෙස උත්සව පැවැත්වීම සිරිත හෙයින්, ඒ පුදුමයට කාරණයෙක් නො වේ.

බිජු ලන කිකිළියෝ එ දින උදය ම තමන් ගේ කටයුතු සම්පූර්ණ කළෝ ය. බිජු රකින කිකිළියෝ මදක් රකිති, එළියට අවුත් බලති, 'මේ කුමන කරදරයෙක් දැ ?' යි කොඳුරති. කුඩා පැටවුන් ඇති කිකිළියෝ කසල ගොඩක් යන්තම් අවුස්සා පැටවුනට දී, මඟුලට සැරැසෙති. කුකුළු පැටවු ද කෑම නො සලකා අදින්නන් පළඳින්නන් දෙස බලමින්, වරක් එ තැනට යෙති, වරක් මෙ තැනට එති. කුකුළෝ පියා හැකි තරම් දික් කොට හොටින් ඇන, ඇඟ කිළි පොළා, පරණ පෙඳ හළා සැරැසෙත්.

කිකිලියෝ කිහිප දෙනෙක් මනමාලිට සැරසූ හ. කවර සැරසීමෙක් ද? ඇඬීම මුත් වෙන කිසිවක් මනමාලිය එ දින නො දනී. කඳුලින් ඇගේ ඇඟ නැවුණේ ය. මඟුලට එන නෑයන් පෙනෙත් පෙනෙත්, ඇඬීම වැඩි වෙයි. මහලු කිකිළියන් අවුත් අවවාද කරන්නට පටන්-ගනී.

'කුමන ඇඬුමෙක් ද, ළමයා ? මේ බොහොම ප්‍රීතියෙන් යා යුතු ගමනක්. තමා ගේ මා-පියන් ගෙන්, සහෝදරයන් ගෙන් වෙන් වනු හැබැයි. එහෙත් අළුත් නෑයෙකු ලැබෙනවා නො .වේ යැ. ? මා-පියන් ගේ ආදරය සියලු සහෝදරයනට බෙදී යනවා. ඒ ලැබෙන නෑයා ගේ ආදරය ඔබට පමණ යි. මා-පියන් ගේ ආදරය ඉතා හොඳ තමා. එහෙත් මේ වයසේ දී ලැබෙන නෑයා ගේ ආදරය සියල්ලට ම වඩා හොඳ යි. ඒ නිසා සතුටු වන්න. අඬන්නේ අවමඟුලකට නො වෙ යැ? මඟුලකට යැ ?'

තවත් මහ කිකිළියක් එයි. ඇය ගේ අවවාද ද මේ සැටි ම ය. මනමාලිය ගේ කනින් නම් ඉතින් ගත යුත්තෙක් නැති. ඇහෙන්නේ මේ අවවාද මයි. සතර පස් විට ඇසීමෙන් ඒ දැන් ඉතා තිත්ත ය, කනට උල් වැනි ය. දැන් දැන් මනමාලිය ගේ ඇඬීම වෙන කිසිවකට නො ව අවවාදයට යැ යි සිතිය හැකි ය. ඇයි ? කවර දෙයක් වුවත් සුදුසු කාලයෙහි පමණට විය යුතු යි. මේ එ සේ යැ ? එන එන මැහැල්ල ඒ අවවාදය ම කෙරෙයි. ඉතින් නාඩා කුමක් කරන්නට ද?. මධ්‍යම වයසේ කිකිළියක් අවුත් මෙ සේ ද අවවාද කළා ය:-

'ළමයා, ඔබ යන්නේ අමුතු ගෙදරකට යි. මා පියන් ළඟ මෙ පමණ කලක් කීකරු ව සිටීම ඔබට මහත් ප්‍රශංසාවට හේතුවෙකි. දැන් මා-පියන් ගෙන් වෙන් ව අමුතු ජීවිතයක් පටන්-ගන්නට යන බව

හොඳින් සිතට ගත යුතු යි. ඇතැම් විට ඔබ මෙහි දී උගත් කටයුතු ඔබ ගේ යුතු කම කිමෙක් ද? ස්වාමියා ගේ පිළිවෙළ ඉගෙන-ගෙන එය ආගම මෙන් ඇදැහීම යි. මගේ මව කී සැටි ය, මගේ පියා කී සැටි ය. එය නො කැර ඉන්නේ කෙසේ ද? යන මේ ආදීන් කල්පනා කොට, සැමියා ගේ අදහස ලෙස නොපවතින්නට නම් සැමියා සමඟ නො යා යුතු ය, ගෙදර ම නැවැතිය යුතු ය. මෙයට වෙනස් ලෙස ඔබට අවවාද කරන්නෝ ඔබ ගේ සතුරෝ ය.'

බොහෝ මැල්ලන් ගේ සිත මේ අවවාදයෙන් නොසතුටට පැමිණියේය. එහෙත් මනමාලිය ගේ ඇඬීම නැවතුනේ ය. අමුතුවෙන් උගත යුත්තක්, පිළිපැදිය යුත්තක්, ඒ වචනයෙහි ඇති බවඇටපෙනී-ගියේය. 'තමාට හොඳ දෙය මා-පියන් ගෙන් ආවත් කිම ? අන් කෙනෙකුන් ගෙන් ආවත් කිම.? පිළිගත යුත්ත පිළිගත යුතු ම ය. මේ නැන්ද කී වචන ඉතා යහපත් බව පෙනේ. පවුලේ සමාදනය ස්ථිර වන්නට නම්, ජීවිතය කරදරවක් නො කැර-ගන්නට නම්, එය පිළිපැදිය යුතු සේ පෙනේ''. මෙ සේ සිතීමෙන් මනාලිය ගේ සිත වෙන දෙයකට නො ඇදුණේ ය, ළය නිවුණේ ය, කඳුළු නැවැතුණේ ය, හැඬිම වැළැකුණේ ය.

මනමාලිය ද නැදෑයන් ද සැරැසුනු කල ගමන ආරම්භ විය. කවර ගමනක් ද? උත්සවය කුකුළා ගමුවේ දී නො ව අසල කැලෑව මැද්දෙහි පැවැත්විය යුතු යැ යි දෙ පක්ෂය ම තීරණය කර-ගන්නා ලදී.

මෙය ඉතා ම අලුත් සිරිත බව මනමාලයා ගේ පක්ෂයෙන් පෙන්නා දෙන ලදී. මනමාලිය ගේ පක්ෂයේ අය ද, ' පැරණි පිළිවෙළේ අය යැ' යි කියති යි හයින් ඊට එකඟ වූ හ. එ හෙයින් ඉතා කුඩා කුකුළු පැටවුන් ද උන් බලා-ගන්නා කිකිළියන් ද හැර, ඉතිරි සියල්ලෝ ම සැරැසී නියම තැනට ගමන් ගත්තෝ ය.

## අභ්‍යාස වැඩ

1. මඟුල් උත්සවය මනාලිය ගේ ගමේ දී නො පවත්වා කැලෑව මැද්දේ පැවැත්වීමට සිවලුන් කළ යෝජනාවට කුකුළන් කැමති වූයේ ඇයි.?

2. මේවා ගැන සිතා බලා උත්තර දෙන්න.
   (1) බිජු ලන කිකිළියෝ එ දින උදයම තමන් ගේ කටයුතු සම්පූර්ණ කලෝ ය. කුමනවා ද ඒ කටයුතු ?

   (2) ' මනාලිය ගේ කතින් නම් ඉතින් ගත යුත්තෙක් නැති' ඒ ඇයි ?

   (3) 'මේ වයසේ දී ලැබෙන නෑය ගේ ආදරය සියල්ලට ම වඩා හොඳයි.' කවරෙක් ද ඒ නෑයා ?.

3. මනමාලිය ගේ හිතට හරි ගියේ කවුරුන් දුන් අවවාද ද?

4. 'කවර දෙයක් වුවත් සුදුසු තන්ති සුදුසු කාලයෙහි පමණට විය යුතු ය.'
   මීට වෙනස් ව මනමාලියට ලැබුණේ කිමෙක් ද?

5. මේ වචන වෙනුවට වෙන වචන දෙන්න.
හෙයින්, මදක්, සැරැසෙති, මධ්‍යම, ප්‍රශංසාවට කිම, ළය.

6. මේවායේ තේරුම්වලට විරුද්ධ තේරුම් ඇති වචන ලියන්න.
මඟුල්, සිරිත, සම්පූර්ණ, අලුත්, ප්‍රශංසාවට නොරිසි, සතුරෝ, හැඩීම.

7. මනමාලියට දෙන ලද දැයින් වැඩි වූයේ මොනවා ද?

8. මෙහි අඩු තැන් පුරවන්න.

(1) කුඩා .................... ඇති කිකිළියෝ .................. ගොඩක් යම් තම් .................... පැටවුනට දී මඟුලට ...................

(2) .................... ඇගේ ඇඟ නැවුණේ ය.

(3) එන එන මැහැල්ල ඒ ............... ම කෙරෙයි.

(4) මේ නැන්ද කී .................. ඉතා යහපත් බව පෙනේ.

(5) ළය ............... කඳුළු ......................
හැඩීම ...................

11. පරිච්ඡේදය

# උත්සවය

ඒ ගුරු දිනෙකි. උදය හිරු ගේ හෝරාව පැමිණෙන විට කුකුළා ගමුව අසල වනයෙහි උත්සව භූමිය සිවලුන් ගෙන් ද කුකුළන් ගෙන් ද පිරී-ගියේ ය. නා නා වර්ණ කුසුමයන් ගෙන් හාත්පස අතිශයින් අලංකාර වූයේ ය. මනමාල පක්ෂයෙන් ආ තූර්ය ගණයා රමණීය වූ වාදනයෙන් මඟුල් පිරිස කුල්මත් කළ හ. තැනෙක නෙත් කලු නැටුම් නටන්නෝ ය, තැනෙක කන් කලු ගී කියන්නෝ ය, තැනෙක දිව් කලු මෝදකයන් පානීයයන් පිළියෙළ කරන්නෝ ය, තැනෙක ගත් කලු පවන් සලන්නෝ ය. මේ සියල්ලෙන් ඒ භූමිය සියල්ලන්ට සිත් කලු වී ය.

මැද්දෙහි තැනෙට සුදුසු සේ සාදන ලද පුවරුව වූයේ ය. ඉන් එක් පසෙක මනමාලිය මා-පියන් ද ඇවැස්ස නෑයන් ද සමඟ උන්නී ය. ඇය ගේ ඇස් බිමට හැරවුණේ ය, හිස කිසි සේත් නො ඉස්සෙයි, ආ විගස ම වරක් අඩ බැල්මක් මනමාලයා දෙසට හෙළූ නමුත් ඒ එ පමණින් ම නැවැතිණ. නෑදෑයෝ ඔවුනොවුන් සමඟ පිය බස් බෙණෙමින්, මනමාල පක්ෂයේ අය දෙස වරින් වර ඇස් හෙළමින්, නැකැත් වේලාව එනු බලමින් උන් හ.

පුවරුයේ අනෙක් පස මනමාලයා සිය නෑයන් පිරිවරා ගෙන උන්නේ ය. හේ වරක් හිස කෙළින්

කොට-ගෙන, රවුළ කරකවමින් හාත්පස බලයි, වරක් අසල වූ යහළුවා සමග යම් කිසිවක් කියා මඳ කොට සිනා සෙයි, නොයෙක් වර මනමාලිය දෙස ද ඇය ගේ නෑයන් දෙස ද බඩ ගිනි බැල්මක් හෙළා කට තෙත් කෙරෙයි, තලූ මරයි, දිවින් තොල නහවයි. මේ අතින් නම් මනමාලයා ගේ ද, ඔහු ගේ නෑයන් ගේ ද වැඩි වෙනසෙක් නැති.

සිකුරු හෝරාව පැමිනියේ ය. නැකැත් වේලාව ඉතා ආසන්න ය. මෙහි දී මනමාලයා ගේ මහලු නෑයන් දෙ දෙනෙකු අතරේ මහත් විවාදයෙක් ඇති විය. විවාදය, 'නැකැත් වේලාවට කුමක් කල යුතු ද?' යන් ගැන යි. 'පුවරුවට නැංවිය යුතු යැයි යැ' යි එකෙක් කියයි. තැලි පලන්ද පිළිඇන්දිය යුතුයැයි අනෙකා කියයි. මේ දැනැමැත්තන් දෙ දෙනා ගේ වාදය ඉතා දික් විය. ඉතා තද විය. නැකැත් වේලාව හොඳට ම ළං විය. ' මේ කලින් ම තෝරා බේරා-ගෙන ආයුතු නො වේ ද? වාද කරන්නට ආවේ මෙ තැනට දැ ? යි මහ මල් හාමි නොසතුටින් කියන්නට විය. අසල සිටි පොර කටු හාමි ඉදිරියට අවුත් විවාද කාරයනට එක් පසකට වී විවාද කරන්නට කියා, පුවරුය ළඟ සිටි මහලු කිකිළියට කැමැත්තක් කරන්නට නියම කෙළේ ය. ඉක්බිති යුවළ පුවරුවට නංවා තැලි පළන්ද පිළී අන්දන ලදි.

මහලු කුකුළෙක් ඉදිරියට අවුත් යුවති පති දෙ දෙනා ගේ අත් දෙක ගත්තේ ය. ' සුන්දරිය, මම ඔබගේ භාර්යාව කොට-ගනිමි. මගේ යුතු කම් මම නො පිරිහෙළමි. සියලු දෙවියෝ අප රකිත් වා' යි



පතියා කීයේ ය. සැමියාණෙනි, ඔබ මගේ සැමියාණෝ ය. මගේ යුතු කම් මම නො පිරිහෙළමි. සියලු දෙවියෝ අප රකිත් වා'යි යුවතිය කීවා ය. මහලු කුකුළා ගත් දෑත නූලින් බැඳ, අත පැන් වත් කොට, මගුල් මන්ත්‍ර මතුරා. 'සියලු දෙවියෝ සාක්ෂ්‍ය වෙත් වා මොහු දෙ දෙන නියම පරිදි බැඳුණාහු යැ යි' කියා, 'කුක්කු කු කු ' ය යි ආශිර්වාද කොට නැවත්තේ ය. ' හා පරා ' යන හඩ සමඟ ම පොල් ගෙඩියකට දුන් කැති පහරෙක හඬෙක් ඇසිණ. සම ව බිඳුණු පොල් ගෙඩියේ දෙ බෑය එක් ව උඩු බලා සිටියේ ය. කවුරුත් තුල්මත් ව ජය නාද පැවැත්වූ හ. මහ මල් හාමි කුකුළා ගමුවේ මහ කසල ගොඩ දෙකක් දුවට දෑවැද්දට දුන්නේ ය.

දැන් රස කැවිලි තටු ගත්තෝ ඒ මේ අත යෙති. මනමාලයා ගේ පක්ෂයේ අය කැවිල්ලට අත ගැසුවා පමණෙකි. ' අපේ මඟුල් කෑම ඉදිරියට යි' යනු කොඳුරා කියමින් ඔහු ඔවුනොවුන් ගේ මුහුණු බලත්. මනමාලිය ගේ පක්ෂයේ අය බඩ පුරා සිත් පුරා කෑවෝ ය, පූ වෝ ය. සමහර කුකුලෝ මනමාල පක්ෂයෙන් ගෙනා කැවිලි කත් වට කොට-ගෙන, තමන් ගේ පුරුදු හපන් කම් දැක්වූ හ.

මේ අතර තූර්ය ගණයට කෑමට බීමට වත් අවසරයෙක් නොවී ය. එක් තාළයකට පසු තවත් තාළයෙක් එයි. බෙරෙහි සම්, වීනායෙහි තත්, නළායෙහි ඉපි, කළ පව් ගෙවුයේ එ දිනය. තූර්ය වාදනයෙහි මිහිරි කෑමෙහි බීමෙහි මිහිරට එක් වූ සේ පෙනුණේ ය.

## අභ්‍යාස වැඩ

1. මේවා ඉගෙන ගන්න.

ගුරු දින :- බෘහස්පතිනද

හෝරාව :- ඉංගිරිසි පැය, හෝරාවකට සිංහල පැය දෙක හමාරෙකි.

හිරු ගේ හෝරාව :- ඉරු ග්‍රහයාට අයත් පැය දෙකහමාර.

යුවති පති දෙ දෙනා :- මනමාලිය, මනමාලයා යන දෙ දෙනා.

මඟුල් මන්ත්‍ර :- මඟුල් පෝරුව ළඟ සිට ගෙන කියනා ශ්ලෝක.

ආශිර්වාද :- ආයු වැඩේ වා යි කියන කීම්.

2. මේ වචන වෙනුවට වෙන වචන යොදන්න.
   වනයෙහි, නා නා වර්ණ, කුසුමයන් ගෙන්, අතිශයින්, අලංකාර, තූර්ය ගණය, රමණීය, මෝදකයන්, පානීයයන්, තටු.

3. මේ වචන ඉහත සඳහන් වචනවලින් කවර කවර එකකට සුදුසු දැයි බලන්න.
   රස කැවිලි, මල්වලින්, වයන්නන් කණ්ඩායම පැන්, සිත් අලවන්නට සුදුසු, නැටි නෙවත් බන්දේසි.

4. ' කලු ' කියන වචනයේ තේරුම ' ඇද ගන්නා වූ ' කියන එක යි. ඒ අනුව මේ වචනවල තේරුම විමසා බලන්න.
   නෙත් කලු, කන් කලු, නාසා කලු, දිව් කලු, ගත් කලු, සිත් කලු.

5. මේ වචන යොද වාක්‍ය ගළපන්න.
   සිත් කලු, පිය බස්, පිළී, පූර්වෝ ය, පැප, පසකට, දෑත.

6. (1) බඩ ගිනි බැල්මක් හෙළා කට තෙත් කෙරෙයි.
   (2) දිවින් තොල තහවයි.
   (3) කුකුළෝ මනමාල පක්ෂයෙන් ගෙනා කැවිලි කත් වට කොට ගෙන තමන් ගේ දුරුදු හපන් කම් දැක් වූහ.

   (4) බෙරෙහි සම්, වීණායෙහි තත්, නළායෙහි ඉපි, කළ පව් ගෙවූයේ එ දින ය.

ඉහත සඳහන් වාක්‍ය වල අදහස් කෙළින් ම සඳහන් කරන්න.

7. කුකුළන් හට මනමාලයා ගේ පැත්තෙන් ගෙනා කැවිලි කත් මොනවා ද?

8. නැකැත් වේලාව ආසන්න වන විට ඇති වූ විවාදය කිමෙක්ද?

12. පරිච්ඡේදය

# මඟුල් දෙසුම

කැවුම් පෙවුම් නැවතිණ. දෙඩුම් කියුම් නැවැතිණ. වැයුම් ගැයුම් නැවැතිණ. සියල්ලෝ යුවති පති දෙ දෙනා පිරිවරා හිඳ-ගත් හ. මහත් නිශ්ශබ්දතාවෙක් පැවැතුණේ ය.

ප්‍රීති නාද මධ්‍යයෙහි කපට හාමි නැඟී සිටියේ ය. ඈත සිටි අය ළං ළං වන්නට පටන්-ගත් හ. නිශ්ශබ්දතාව කැඩුණේ ය. කපට හාමි දේශනාවට පටන්-ගත.

යුවතිපතියෙනි, නෑදෑ-මිතුරෙනි, මම මහත් පිනැත්තෙක්මි, ඉතිහාසයෙහි ලොකු අකුරින් ලියැවෙනා වූ මෙබඳු ප්‍රස්තාවයෙක දි යුවති පති දෙ දෙනාට ආශිර්වාද කිරීමේ උසස් තනතුරට පත් වූ මම ඇත්තෙන් ම පිනැත්තේක් නො වෙම් ද? පින කෙසේ වෙතත් මට ඇත්ත නො කියා බැරි ය. මේ නම් මට වඩා උගත්, මට වඩා වියත් කෙනෙකුන් විසින් කළ යුත්තෙකි. එ බඳු අය මෙහි එමට සිටිත් ඔහු ඉවසත් වා.

මේ දෙවියන් ද සතුටින් පුල-පුලා බලා ඉන්නා ප්‍රස්තාවයෙකි. ලෝකය ඇති වූ ද සිට සතුරු යැ යි ප්‍රසිද්ධ වූ දෙ පක්ෂයෙක් මිතුරු වූ හ. නොවෙනස් විය හැක්කෙකැ යි සම්මත වූවෙක් වෙනස් විය. ඔහු ගේ ගෝත්‍රයෙහි දෙ වැනි නොවන්නා වූ තරුණයෙක් ඇය ගේ ගෝත්‍රයෙහි දෙ වැනි නොවන්නා වූ

තරුණියක පාවා-ගත. ඉතින් සියල්ලන් ගේ සිත් ප්‍රීතියෙන් පිරී ඉතිරී යාමට මෙයට වඩා සුදුසු ප්‍රස්තාවයෙක් වේ ද?

පතියා සියලු ගුණයෙන් අනූන ය. ඔහු ගේ ගෝත්‍රයෙහි අන්‍ය තරුණයෝ ඔහු කීවක් කරන්නට නොමැලි වෙති, එ සේ කොට දෙම්නසට නො පැමිණෙති. ඔහු ගේ මා-පියෝ ද ගුරු වරු ද ඔහු නිසා ආඩම්බර වෙති. බැහැර අය ද ඔහු තරුණයනට ආදර්ශයක් කොට දැක්වීමට යුහුසුලු වෙත්.

යුවතිය ද සියලු ගුණයෙන් අනූන ය. ඇය ඇය ගේ ගෝත්‍රයෙහි තරුණියනට ආදර්ශ කොට දැක්වූ තැන් මම ම දනිමි. මා-පියනට ඇති කීකරු කමට ඔවුන් ගේ මහත් ආදරය සාක්ෂ්‍ය යි. නෑදෑයනට ඇති ලැදි කමට ඔවුන් ගේ අගනා තෑගි බෝග සාක්ෂ්‍ය යි. මිත්‍රයනට ඇති හිතට ඔවුන් මේ සා ගණනක් මෙහි පැමිණීම සාක්ෂ්‍ය යි. පෙර මහත් පින් කළ බවට මෙ වැනි පතියකු ලැබීම සාක්ෂ්‍ය යි.

වචනයක් නො කිය හැකි යුවළෙකි. වරදක් නො දක්විය හැකි නෑකැතෙකි. අඩුවක් නො සෙවිය හැකි පිරිසෙකි. වැඩියක් නො පැතිය හැකි උත්සවයෙකි. ප්‍රීතියෙන් අප ගේ සිත පිරී-ගියේ ය. ආශිර්වාදයෙන් අහස පිරුණේ ය. සුබ ලකුණෙන් ඇස පිබිදුණේ ය. මෙ බඳු තන්හි, මෙ බඳු යුවලකට ආ වඩන්නට වීම කාට නම් ආඩම්බරයට හේතු නො වේ ද?

මෙ බඳු ප්‍රස්තාවල දී අවවාද කරන්නට සැරැ සෙන්නෝ ද ඇත. මම ඒ ගණයට අයත් නො වෙමි. මඟුල් සෙබෙහි අවවාදත් මඟුල් බොජුන් හලෙහි ජයපාලත් එක බඳු බව මම දනිමි.

එහෙත් අවවාද නො කළැ යි කියන අයට අවකාශ නොකරන පිණිස මම මෙ සේ කියමි. සියලු දෙවියනි, අඩුවක් නො දක්වා මොවුන් රක්නා ලෙස ඔබ හැම හට අවවාද කෙරෙමි. යුවතිය ගේ දෙ-ගුරුනි, ඔබ ගේ කුලයට පුතකු ලැබුණු සේ සලකා-ගන්නට අවවාද කෙරෙමි. පතියා සේ සලකා-ගන්නට අවවාද කෙරෙමි. පතියා ගේ දෙ-ගුරුනි, ඔබ ගේ කුලයට දුවක ලැබුණු සේ සිතා-ගන්නට අවවාද කෙරෙමි. සකල ඥාති-මිත්‍රයෙනි, ඔබ ගේ සැලකිල්ලට, ගෞරවයට,බහුමානයට සුදුසු වූ තව ද කුලයක් ඇති වූ බව තරයේ සිතට ගන්නා ලෙස අවවාද කොරමි. යුවතිපතියෙනි, ඔබ දෙ දෙනා ගේ ප්‍රේම බන්ධනය බුරුල් නොකරන සේ, ගරහනු කැමැතියන් ගේ මුව අරින්නට ඉඩ නොතබන සේ පසසනු කැමතියන් ගේ මුව වසන්නට අවකාශ නොදෙන සේ, සැපත් එන දෙර ඇර තබන සේ. විපත් එන දෙර වසා-ලන සේ අවවාද කෙරෙමි. මේ මැත දෙඩන්නා වූ කපටය, මින් මතුත් මෙ වැනි මඟුල් කෑමට එන්නට තගේ පින් ඉතිරි වුවහොත්, තගේ කට රැක-ගන්නා ලෙස තට ද අවවාද කෙරෙමි. පින්වතුනි, මෙ තෙක්, විහිළු කතායෙන් කළ හිරිහැරය මෙ තෙකින් අවසන් වන බැවින් ඉවසන ලෙස ඔබ හැම හට ද අවවාද කෙරෙමි.

සිනා හඬින් මුළු බිම දෙදරද්දී, රස වින්දවුන් එ තරම් ඉක්මනින් කෙළවර පැමිණීම ගැන කොඳුරද්දී, වියතුන් පසසද්දී, නොසමතුන් ඊර්ෂ්‍යා කරද්දී, තරුණයන් මවිත වෙද්දී, තරුණියන් අඩ බැලුම් හෙළද්දී, කපට හාමි ගේ මඟුල් දේශනාව කෙලවර විය.

දැන් සියලු ඇස් පතියා දෙසට වැටෙයි. ඔහු ගේ පිළිතුර අසන්නට සියල්ලෝ ගෙල දික් කෙරෙති, කන් දික් කෙරෙති, අසුන්හි හරි හැඩී හිඳිති, හිස ඇළ කෙරෙති, මඳ සිනායෙන් මුව සරසති. පතියා කෙලින් විය, දෙ තොල් තද කර රස බැලී ය, වරක් දකුණත් පසට හැරිණ, වරක් වමත් පසට හැරිණ, වරක් රවුළ ඇඹැරැවී ය, වරක් උඩු කය කර-කැවී ය. වරක් දකුණු පය එසැවී ය, වරක් වම් පය එසැවී ය, කෙළවර දී ඔහු ගේ මුව විවර වූයේ ය. ඉන් හඬෙකුත් නැගිණි. ඒ පිළිතුරු යි.

පින්වත් කපට හාමියාණෙනි, නෑදෑ-මිතුරෙනි, මේ මහත් අපරාධයෙකැ යි සිතිමි. හැකි තරම් බර පැටවුවකු උස් වැටෙකින් පැන්නීම මෙ තරම් අපරාධයෙක් නො වේ. එක් අතෙකින් ආදර බරෙකි. එක් අතෙකින් දෑවැද්ද බරෙකි, එක් අතෙකින් නැති ගුණ වැනුම් බරෙකි, එක් අතෙකින් සැලැකිලි බරෙකි. මෙ බඳු බර ගොඩකට ම යට වූ මගෙන් දේශනාවකුදු පැතීම ඇත්තෙන් ම බලවත් අපරාධයෙකි. මෙ බඳු අවස්ථාවකට පැමිණෙන්නට සිටින තරුණයන් තැති ගන්වන තරම් දරුණු අපරාධයෙකි.

'එහෙත් කුම් කෙරෙම් ද? කළ යුත්ත කළ මනා මැ යි. දැන් මේ මගේ ද, මගේ මේ.......මේ.......මේ.... අහෝ මම කුමක් කියම් ද? මීට පෙර මේ නම කියා පුරුදු අය මට මෙය කියා දෙත් වා (-'ප්‍රියාව' යැ යි සබයෙන් එකෙක් කී ය-) පින් සිදු වේ වා දැන් මේ මගේ ද මගේ ප්‍රියාව ගේ ද ඇති නැති ගුණ වනා, අප දෙ දෙනාට ම මහත් සෙත් පතා, විසිතුරු දේශනාවක් කරන ලද්දේ ය. එ කී තරම් ගුණ මා කෙරෙහි ඇති බවක් මම නො දනිමි. ඒ සියල්ල ඇත් නම් ඉතා හොඳ බව දනිමි. එ හෙයින් ඇති වේ වයි මහත් ආශායෙන් පතමි. මගේ....මගේ.... හා. මතක යි!- මගේ ප්‍රියාව ගේ ගුණ වර්ණනාව අසා මගේ සිත සතුටින් ඉපිලී ගියේ ය. එබඳු ගුණ ඇති ප්‍රියාවක ලැබීම මගේ පිනින් නො ව, මා ඉදිරියට එළවන්නා වූ මගේ නැදෑ-මිතුරන් ගේ පිනින් සිදු වූ සේ සලකමි. කෙසේ වුව ද අප ගේ ගුණ වැනූ, අපට සුබ පැතූ, අපට ධෛර්ය දුන් මේ කපට හාමියාණන් හට ද, ඔහුට හවුල් වූ මේ සියලු නැදෑ-මිතුරන් හට ද මම මහත් ගෞරවයෙන් ස්තුති කෙරෙමි. මගේ මේ පිය භාර්යාව ද ඒ ස්තුති කිරීමට මට රුකුල් දෙන්නී ය. අන් සියල්ලට ම වඩා අප ගේ නැදෑ-මිතුරන් ගේ මහත් ආදරය විඳ-ගන්නට ලැබීම මේ උත්සවයේ ඉතා උසස් ලක්ෂණය කොට අපි දෙ දෙන ම සලකමු.

'මේ, දිග දේශනාවකට ප්‍රස්තාවය නො වේ. මේ, මෙ බඳු අවස්ථාවකට පැමිණි පළමු වැනි වාරය යි.

බැරි කම ය, නුහුරු කම ය. යනාදි කිහිපයෙකින් ම අමාරුවට පැමිණ සිටින හෙයින් යම් වරදක් වුව ද කමා කරන මෙන් ඉල්ලමි. අපි නැවත ද සියලු පිරිසට ස්තුති කෙරෙමු.'

තව ද දේශනා කිහිපයක් පැවැත්වුණු පසු ආශිංසන පත්‍ර කියැවීමේ වාරය පැමිණියේ ය. එක් තරුණ කුකුළෙක් ඉතා දිග පළල ඇති පතක් වැරදී ඔසොවා-ගෙන කියවන්නට පටන්-ගත.

'ස්වස්ති'

ශ්‍රී සාර විරාජිත සකල නගරාංගශ්‍රීන් අනූන වූ හිවලා වල නම් පුර ප්‍රවරයෙහි ඥාතස්වාමි නාමොපලක්ෂිත ශෘගාලාධිපතීන් වහන්සේ ගේ ප්‍රිය පුත්‍ර වූ.................'

.මෙ තෙක් ඉතා අමාරුයෙන් අසා-ගෙන සිටි පතියා ගේ ඉවැසිල්ල කෙළවර විය. හේ දකුණත ඔසොවා ආශංසන පත්‍රය කියැවීම නැවැත්වී ය. මෙ සේ ද කීය :-

'නෑදෑ-මිතුරෙනි, මෙ බඳු ප්‍රස්තාවවල දී ආශාසන පත්‍ර කියැවීම අප අතර ද පෙර පැවැතුණු බව ඇසීමි. නැති උසස් කම් වනා නොතේරෙන භාෂාවෙන් ලියන ලද ආශිංසන පත්‍රයක් කියවනු අසා සිටීමට දැන් තරි කැමති නැත තරින් හට ද නින්දවක් වූ මේ සිරිත තරන් අතර පැතිරී යාමෙන් අපට කිම ? අපි දැන-දැන මෙ බඳු විහිළුවට ඉඩ නො දෙමු.'

## මඟුල් දෙසුම

ප්‍රීති නාද මධ්‍යයේ ආසී පත සබයෙන් බැහැරට ගෙන යන ලදි. යුවතිපතීහු ද පුවරුයෙන් බස්වන ලද්දහු අසල වූ අසුනෙක හිඳ-ගත් හ.

### අභ්‍යාස වැඩ

1. මේවා තේරුම් දී ඇති සැටි බලන්න.

    කැවුම් පෙවුම් :- කෑම බීම.

    ප්‍රස්තාවයෙක :- (ඉඩ ඇති) වේලාවක.

    වියත් :- කීමෙහි සමත්.

    ගෝත්‍රයෙහි :- කුලයේ.

    අනූනව :- අඩු නැති.

    දෙම්නසට :- කනගාටුවට

    ආර්ශයක් :- ගුරු කමට ගත යුත්තක්.

    පුහුපුලූ :- ඉක්මන්.

    සාක්ෂ්‍ය :- සාක්කි.

    ගරහනු :- නින්ද කිරීම.

2. ඉහත සඳහන් වචන යොදා වාක්‍ය ගළපන්න.

3. (1) 'අවකාශ නොකරන පිණිස'
   (2) ' මුව අරින්නට ඉඩ නොතබන සේ'
   (3) ' සැපත් එන දෙර ඇර තබන සේ'
   (4) 'මුව වසන්නට අවකාශ නොදෙන සේ'
   (5) ' විපත් එන දෙර වසා-ලන සේ'

   මේවාට මෙහි පහත සඳහන් ඒවායින් කවර කවර එක සුදුසු ද කියා කියන්න.

   (1) ' ගුනයක් නො කියා නිකම් සිටින්නට බැරි වන තැනට වැඩ සලස්සන්නට'

(2) 'කතාවක් කියන්නට ඉඩක් නැති වන තැනට කරුණු සලස්වන්නට'

(3) ' ඉඩක් නොදෙන්නට '

(4) ' අනතුරු සිදු වන්නට ඇති මං නැති කැර නොයන්නට '

(5) ' යහපත සිදු වන්නට ඇති මං නැති කැර නො යන්නට '

4. මනමාලයා කතාව පවත්වන්නට සැරසුණු හැටි රඟ පා පෙන්වන්න.

5. නරින් මිනිසුන් ගේ සිරිතකටත් ඇනුම් පදයක් කියා ඇති. එ තැන එළි පැදුම් කැර පෙන්වන්න.

6. මේවාට වෙන වචන ලියන්න.
ආශිංසන පත්‍ර, නරන්, මුව විවර වූයේ ය, උඩු කය, ඉපිලී,

7. තරුණ කුකුළා කියවන්නට පටන්-ගත් ආශිංසන පත්‍රය ලිහිල් සිංහලයට යොද මෙහි සඳහන් වෙයි. එය නියම ආශිංසනය සමඟ සමාන කැර බලන්න.

' සුවයෙක් වේ වා '

සිරි සරින් බබළන, නුවරකට සම්පත් හැටියට පිහිටිය යුතු සියලු අංගයන් ගෙන් අඩු නැති, හිවලා වල කියන උතුම් පුරයේ නුවණ හාමි නමින් හැඳින්වෙන සිවල් අධිපතියානන් වහන්සේ ගේ පුතා වූ ......................

8. මේ හිවල් මඟුල් උත්සවය මිනිසුන් ගේ මඟුල් උත්සවයකට කුමන කුමන ඒවායින් සමාන දැ යි කියන්න.

13. පරිච්ඡේදය

# ඇරලීමේ ගමන

දැන් ගමනට සැරසෙන වේලාව ය. පති පක්ෂයේ අය මහත් නොඉවැසිල්ලෙන් බලා, හිඳිත්. වැඩි සිටියෝ, 'ඉක්මන් කරන්න, ඉක්මන් කරන්නැ'යි කියමින් ඒ මේ අත යෙති. යුවති පක්ෂයේ අය ඇරලීමේ ගමන සුදුස්සන් ඉදිරිපත් කෙරෙති. ගමනට සැරැසුණන් ඉතා ටික බව දුටු නුවණ හාමි, 'හා හා මෙ සේ කිරීම හරි නෑ. කුකුළා ගමුවේ අපේ සියලු නෑයන් ම මේ ගමනට නොයෙන්නේ මන්ද? අපි සියලු නෑයන් පිළිගන්නට සැරැසුණුමු' යි කී ය.

යුවති පක්ෂයේ සියල්ලෝ ම ඉමහත් පුදුමයට පැමිණිය හ. මහ මල් හාමි ඉදිරියට පැමිණ කථා කෙළේ ය. 'ප්‍රිය නෑයිනි, එ බඳු සිරිතෙක් ඇද්ද? ඇර ලන්නට යන්නෝ යුවතිය ගේ මා පිය දෙ පක්ෂයේ කිහිප දෙනෙකි. අපට සංග්‍රහ කිරීමට ඔබ සැරැසුණත් මඟුල්තුලාවල දී සිරිත් කඩ කිරීම අපට නො හොබී.'

'කොයි ඇති සිරිතෙක් ද? හිවලා වල නම් එ බඳු සිරිත් නෑ. යන්නට හැකි තාක් දෙන ඇර-ලන්නට යෙති. ඉතින් ඊට වඩා හොඳ සිරිතෙකුත් ඇද්ද? පතියා ගේ පක්ෂයෙහි සියලු වැදැගතුන් හට සංග්‍රහ කිරීමට ඉඩ යුවතිය ගේ පක්ෂයට ලැබේ. යුවතිය ගේ පක්ෂයේ සියලු වැදැගතුන් හට සංග්‍රහය කිරීමට ඉඩ පතියා ගේ පක්ෂයට ලැබේ.' මෙ සේ නුවණ හාමි පිළිතුරු දුන්නේය.

මහ මල් හාමි නොනැමුණේ ය. 'එක් පක්ෂයෙක සිරිත් ම ගන්නට යාම අනෙක් පක්ෂයට නින්දවෙකි. දෙ පක්ෂය සමාන වේනොත් ඔබ ගේ පක්ෂය අප ගේ පක්ෂයේ සිරිතට ද ගෞරව කළ යුතු ය. මේ අපේ ම සිරිත නො වේ. අප රක්නා මිනිස්සු ද මේ සිරිතට ගරු කෙරෙති'.

නුවණ හාමි මඳක් ඉඟි මරා සරදම් සිනාවක් සී, පිළිතුරු දුන්නේ ය. 'මිනිසුන් ගේ-නරන් ගේ-සිරිත් දැන් නරින් ගේ සිරිත් පමණ හොඳ නැති බව තව ම දන්නේ නැද්ද? මිනිස්සු ඒ ඒ තැනට පහසු අන්දමට ඒ ඒ දෑ වෙනස් කැර-ගනිති. ඔහු පෙර දවල් මඟුල් නැකැත් නො ගත් හ, දැන් ගනිති. පෙර පා වහන් ලා-ගෙන පුවරුවට නොනැංගෝ යැ, දැන් නඟිති. පෙර පිළී සැබැවින් ම ඇන්දූ හ, දැන් පිටින් තබා කටු ගසා මහ බොරුවක් කෙරෙති. ඉතින් එ බඳු නරන් ගේ සිරිත් ද අපට ගන්නට කියන්නේ?'

දැන් තවත් මහලු කුකුළෝ ඉදිරියට එති, කථාවට බැඳෙති, මහ හඬින් ගුගුරති, තමන් ගේ සිරිත් කඩ නොකරන බව කියති. මහලු සිවල්ලු ද නුවණ හාමිට එක් ව තමන් ගේ සිරිත් තමුන් කඩ නොකරන බවත් කියත්. මෙ සේ එහි මහත් කලබලයෙක් විය.

මෙහි දී කපට හාමි මහ මල් හාමි පසකට ගෙන රහසින් කරුණු පහද දුන්නේ ය. ' රාලහාමි, දැන් පිටත් වන නැකැතත් ඉතා ම කිට්ටු යි. ඔබ ගේ කථාව හරි. එහෙත් මේ කලබල කාරයන් කුමන්

කීවත් කලබල නැති ව සන්සුන් ව කටයුත්තට බාධා නොවන සේ පැවැතීම ඔබ වැනි මහ නුවණ ඇති උත්තමයන් ගේ සිරිත ය. පරණ සිරිත ම ගරු කිරීම අලුත් ලෝකයට නින්දවෙකි. ඔබ ගේ ප්‍රිය දියණියන් අප ගේ තරුණයකුට දෙන්නේ පරණ සිරිත රැකීමෙන් ද? එන්න, රාලහාමි, එබ ගේ උසස් බව මෙහි දී ද පෙන්වන්න. මේ කලබලය සන්දිඳැවීමට ඔබ හැර සමතෙක් මේ මුළු ලොව නැත්තේ ය.'

මේ උදර ප්‍රශංසාවෙන් මහ මල් හාමි තිහඬ විය. කපට හාමි ගේ කර්කයෙන් හේ නිරායුධ විය. එ හෙයින් මොහොතකුදු නො නැවතී ඉදිරියට අවුත් මහ හඬින් 'කුක් කු කු කු ' ය යි කියා සියල්ලන් නිශ්ශබ්ද කොට, පති පක්ෂයේ යෝජනාවට තමා එකඟ වන බව ද සියලු නෑයන් එයට අවනත විය යුතු බව ද කී ය. මහලු කුකුළන් ගේ කුසුකුසුව සිවලුන් ගේ ප්‍රීති නාදයෙන් යට වී ගියේ ය. කලබලය එයින් නැවැතිණ.

දැන් සියල්ලෝ ම ගමනට පෙළ ගැසෙති. එක සැදින් නායක බවට පමුණුවන ලද මහ මල් හාමි හාමිනෝ ද සමඟ පළමු කොට නික්මිණ. නුවණ හාමි හාමිනෝ ද සමඟ දෙ වැනි විය. සෙසු කුකුළෝ ද, සිවල්ලු ද සුදුසු සේ පෙනුණ පිළිවෙළින් පිටත් වූ හ. යුවති පති දෙ දෙනා අන්තිමට පැමිණියෝ ය.

සිවල්ලු ඉක්මන් වන්නට දඟ ලති. එහෙත් කුකුළෝ කුකුළු ගමනින් ම යෙති. ' අලුත් පිළිවෙළට

මෝටර රිය චත් ඇත් නම් කොපමණ හොඳ දැ?' යි එක් සිවලෙක් ඇසී ය. ' අපේ පයින් ගමන ම හොඳ යැ 'යි කුකුලෙක් කී ය.

'පයින් වුවත් අපට නම් හිවලා වලට පිනුම් කීයද?' යනු එක් සිවලකු ගෙන් පිට විය.

කවුරු කුමක් කීවත් ගමන නම් ඉතා සෙමෙන් ය. කපට හාමි යස යෝනාවක් කෙළේය. ' අපේ නෑයන් අපේ ම පිටින් ගෙන යාම අපට තින්දුවක් නො වේ. ඔවුන් පිට උඩ තබා-ගත් කල අපට ඉතා ඉක්මනින් ගිය හැකි වෙයි. පොරකටුහාමි ඊට විරුද්ධ වූයේ ය. 'ඔබ ඉක්මනින් දිවෙන කල අපි කෙසේ පිට උඩ හිඳිමු ද? අප බිමට පෙරළී තුවාළ වූ කල මඟුලෙක් ද? පිට උඩ යාම් යෝජනාව ඉන් අබල වූ යේ ය.



ඉක්බිති පතියා යෝජනාවක් කෙළේ ය. නොවැටෙන ලෙස ගෙන යන්නට මම ගුරු කමක් කියමි. මම මගේ ප්‍රියාව මගේ කටින් ම ගෙන යමි.

අප ගේ පක්ෂයේ ඉතිරි අයට ඇය ගේ පක්ෂයේ අය එ සේම ගෙන යාම බැරි වේ ද? ˙පිළිවනි යි ඉතිරි සිවල්ලු එක් හඬ නැඟූ හ.

පතියා ඉක්මන් විය. යුවතිය හෝ ඇය ගේ නෑයකු හෝ හඬක් නඟන්නට පෙර හේ ස්වකීය ප්‍රියාව ගේ ගෙල මුවින් ගත්තේ ය. කිකිළිය මර හඬ ලන්නට වූවා ය. අසල ළැහැබෙකින් පිපිරෙන මහ හඬක් නැඟිණ, ගිනි දළුවෙක් ද පිට විය. හීන් හාමි යුවතිය හෙළා කෙදිරිගාමින් බිම හොත්තේ ය.

හූඃ හූඃ හූඃ යන හඬක් හඟා ගෙනැ සිවලුන් ගේ ආදි නෑයෙක් ද සැණෙකින් එ තැනට පැමිණ, මහ සිවලකු කටින් වැලැඳ-ගෙන ඒ මේ අත පෙරළෙමින් අමුතු පිළිවෙළක ආදරයක් දක්වන්නට වූයේ ය. සෙසු සියලු සිවල්ලු ˙ කුකුළු නෑයන් ගේ ගමන් ඔවුන් විසින් ම බලා-ගත යුතු යැ˙ යි කියන්නා සේ සතර පයේ මුළු ශක්තිය හිවලා වල දෙසට හැරුව හ. මුළු කුකුළු රැළ, මහුල් ගමන් කල් තුබුවා සේ, ˙ කොක්, කොක්, කොක්, ˙ හඬ සියක් වර වරද්දමින්, ඒ අතින්, මේ අතින්, පඳුරු යටින් , උඩින්, අස්සෙන්, කුකුළා ගමුව දෙසටඉක්මන් ගමන් ගත් හ.

## අභ්‍යාස වැඩ

1. මනමාලිය ඇරලන්නට ගමනට සැරසෙත් දී මුලින් ම ඇති වුණු විවාදය කුමක් ගැන ද? ඒ විවාහයට මුල් වූ යේ කවරෙක් ද?

2. ගමන අතර මග දී ඇති වූ විවාදය කුමක් ගැනද ? ඒකට මුල් වී ඉදිරිපත්වූයේ කවරෙක් ද?

3. සිරිතක් කඩ කිරීමට මුල දී තදින් ම විරුද්ධ වූ මහ මල් හාමි පසු ව එයට නැමුණේ ඇයි?

4. මේවා වෙන විදියෙකින් කියන්න.
   පති පක්ෂයේ අය.
   යුවති පක්ෂයේ අය.
   මහ මල් හාමි නොනැමුණේ ය.
   හේ නිරායුධ විය.

   එක සැදි නායක බවට පමුණුවන ලද.

(මෙන්න ඔබට බලා-ගන්නට උදහරණයක්, හේ නිරායුධ විය' ඔහුට කියන්නට දෙයක් නැති වී ගියා.)

5. 'පිපිරෙන මහා හඬෙක් නැඟිණ, ගිනි දළුවෙක් ද පිට විය. හීන් හාමි යුවතිය බිම හෙළා කෙදිරි ගාමින් බිම හොත්තේය.'

   ඒ කීයේ කුමක් වූ බව ද?

6. මේවා කොටින් කියන්න.
   ' සිවලූන් ගේ ආදි නෑයෙක්'
   'සතර පයේ මුළු ශක්තිය හිවලා වල දෙසට හැරවූහ'
   ' අමුතු පිළිවෙළෙක ආදරයක්'

7. මේවායේ අඩු තැන් පුරවන්න.
   'මිනිසුන් ගේ ................ දැන් නරින් ගේ සිරිත් පමණ හොඳ නැති බව තව ම ................ නැද්ද ?
   'මහලු ............... ද තුවණ හාමිට එක් ව තමන් ගේ' සිරිත් ............... කඩ නොකරන බව කියත්'
   'මහලු කුකුළන් ගේ .................... සිවලූන් ගේ ප්‍රීති ................ යට වී ගියේ ය.'
   ................ දෙ දෙන අන්තිමට පැමිණියෝ ය.'

8. කුකුළන් නොවැටෙන හැටියට ගෙන යන විදිය යෝජනා කළේ කවරෙක් ද? එයින් සිදු වූයේ කිමෙක් ද?

14. පරිච්ඡේදය

# තමේ මුල අකුර

හිවලා වල ර්යේ පැවති උත්සව ශ්‍රිය අද නැත. හිවල් පැටවු බඩගින්නෙන් කෙදිරි ගාති. තරුණ සිවල්ලු පෙර පුරුදු දඩයම් ගැන සිතා ඇඟ කිලි පොළා, ගිය පණ හැරී ආ ලෙසක් දක්වා ගුහා දෙරට, ළැහැබ අයිනට ගොස් මරු අවතාර දුටුවා සේ බියෙන් වෙවුලා යළි. ගුහාවට, ළැහැබට වැද බඩ ගින්නේ ම නිදන්නට වෙති. මුළු හිවලා වල අව මඟුල් ගෙයක් මෙන් විය.

වැඩී සිටි සිවල්ලු කිහිප දෙනෙක් කොළෙයක් වැටෙන හඬිනුදු තැති ගනිමින්, තමන් ගේ ම සෙවණැල්ල ද දැක දිවෙන්නට හැරෙමින්, ඉතා පරෙස්සමින් ඒ මේ අත බලමින්, කිහිප අතෙකින් ළැහැබින් මැත් ව, ගල් කෙම දෙසට යෙති. ඒ එක-එකා අනෙකුකු දැක හැරී මඳක් දිව ගොස් පසු බලයි, තමා පස්සේ එන්නකු නැති හෙයින් හොඳට බලා, ඉතිරි අය නැයන් බව දැන-ගෙන, සුසුමක් හෙළා ළය බුරුල් කොට-ගෙන, සැක නැති ව ගල් කෙම ළඟට පැමැණේ.

නුවණ හාමි, විහිළු හාමි ආදි නායක සිවල්ලු කිහිප දෙනෙක් පිපාසාව ඉවසා-ගත නො හී එසේ පැමිණියෝ ය. එකෙකුත් බසක් නො කියයි. නුවණ හමි සැක නැති ව, බිය නැති ව ගල් කෙමට ළං ව

පැන් බොන්නට හොස්ස දිගු කළා පමණෙකි. පැන් හොස්සෙහි ගෑවෙන්නට ද ඉඩක් නොලැබුණේ ය. මරුවා ම දුටුවකු මෙන් නුවණ හාමි හඬක් නඟා-ගෙන ආ පසු හැරී, ඊයේ කුකුළා ගමුවෙන් දිවුවාට ද වඩා වේගයෙන් දිව ගොස් ළැහැබට ම වන්නේය. සෙසු සිවල්ලූ ද, සිතන්නට නො නැවතී, බලන්නට මතක නැතිව, 'අහන්නට පසුව පිළිවන, දැන් යන්තම් ගැලැවුණොත් ඇතැ' යි දුවන්නට ම වන් හ.

එකෙක් නුවණ හාමි පස්සෙන් වැටුණේ ය. නුවණ හාමි ගේ දිවීම තවත් වේගවත් විය. 'හුඃ හුඃ' යන හඬක් වත් නැත්තේ මන් දැ?' යි සිත සිතා ඉන්නට දැන් කල් නැත. ඕනෑ පණ බේරා ගැනීම යි. හේ දිවෙයි. ඔහු දිවෙන නිසා පස්සෙන් දිවෙන සිවලා ද දිවෙයි. උන් දිවෙනු බලා සෙසු සිවල්ලූ ද දිවෙති. දිවෙන්නට පිළිවන් සියල්ලෝ ම දිවෙති. මෙසේ දිව ගොස් සියල්ලෝ ම ගල් ගුහා තුළට වැදුණෝ ය. නුවණ හාමි වන් ගුහාවට, පස්සෙන් දිවූ සිවලා ද වැදුණේ ය. තවත් දිවෙන්නට ඉඩ නැති හෙයින් නුවණ හාමි හැරුණේ ය. ඒ සමඟ ම පස්සෙන් ආ සිවලා ගේ ඇඟෙහි හැපී බිම පෙරළුණේ ය. 'දැන් දැන් බලූ හාමි ගේ තියුණු දත් බෙල්ලේ වදිති 'යි බියෙන් වෙවුලා-ගියත්, නුවණ හාමිට එ බඳු අන්තරායයෙක් නො වී ය. මඳ කොට ඇස ඇර බැලූ ඔහුට පෙනුණේ කිමෙක් ද? පණ යන තරම් හති දමමින් උන් විහිළු හාමි ය.

තොල් කටේ වියැළි ගතිය මදක් ඇරුණාට පසු නුවණ හාමි දෙඩුවේ ය.

'ඒ විහිළු හාමි ද?'

'ඔව් 'ය යි විහිළු හාමි හීන් හඬින් පිළිතුරු දුන්නේය.

' මා පස්සේ දිවුවේ ඔබ ද?'

' ඔව්'

අනේ මා රැවැටුණු රැවැටිල්ල

'ඇයි ?'

'මා හිතුවේ බලු හාමි මා පස්සෙන් එළවාගෙන ආවා යි කියා.'

'බලු හාමි කොහි ද?'

'මා ගල් කෙමට හොස්ස දික් කරනවාත් එක්ක ම බලු හාමි ගල් කෙමේ හැංගී සිට හොස්ස දික් කළා. මා හැරී දිවුවා. නො දිවුවා නම් මගේ කැරුම් ඉවර යි.'

බලු හාමි ගල් කෙමේ සිටියා

'ඔව්, මා හොඳට ම දුටුවා. මගේ හොස්ස අල්ලා-ගන්නට හොස්සත් දික් කළා.'

'බල්ලන් දියේ හැංගී ඉන්නා බවක් මා ඇසුවේ නෑ. ඉතින් බලු හාමි දැන් කොහි ද?'

'මා දන්නේ නෑ මා හිතුවේ අප පස්සෙන් එළවා ආවායි කියා.'

'ඇයි, අපට 'හූඃ හූඃ' කියනවා නැහුණේ ?'

නුවණ හාමි හිතන්නට වූයේ ය. විහිළු හාමි තවත් ප්‍රශ්න ඇසී ය.

'ඔබ බලු හාමි හොඳින් ම දුටුවා ?'

'මට මතක ඒ වාගෙයි.'

'ඒ ඔබගේ සෙවණැල්ල වෙන්නට බැරි ද?'

නුවණ හාමිට නුවණ ආයේ එයිනුයි. ඔබට මහත් ලජ්ජා ඇති විය. එය වසා-ගන්නට හීන් හිනාවක් පෙන්වීය.

'අනේ, ඇත්තෙන් ම මා රැවටුණා වෙන්නට පිළිවනි. බල්ලන් දියේ හැංගෙන්නේ නෑ. දියේ පෙනුණු මගේ ම සෙවණැල්ල බලු හාමි වාගේ මට පෙනෙන්නට ඇ. දැන් එයින් කමෙක් නෑ. යමු පැන් පොදක් බොන්නට. මට බඩගිනි නම් ඉවසා-ගත හැකි, පිපාසාව ඉවසාගන්නට බැහැ.'

මෙසේ කියා නුවණ හාමි ගල් ගුහායෙන් නික්මුණේ ය. විහිළු හාමි පස්සෙන් වැටුණේ ය. ඔවුන් මෙන් ම දිව අවුත් ගුහාවල සැඟැවී, කාරනය නො දැන සිටි අනෙක් සිවල්ලු, මහ ජයක් ලැබූ වීරයන් මෙන් යන දෙ දෙනා දැක, මදක් සැනැසිලි ලැබ ගුහාවලින් මැත් වූ හ, වට පිට බැලූ හ. බයක් නැති බව දැන ඔහු ද පස්සෙන් වැටුණෝ ය. සියල්ලෝ ගල් කෙම වටා සිට-ගත් හ. එකෙකුත් බසක් නො කියයි. අන්තිමයේ දී ඉවැසිලි නැති එක් මහලු සිවලෙක් කටේ වැස්ම බුරුල් කෙළේ ය. 'අනේ, හැබැවට ම ඒ කුමක් වුණා ද? ඇයි, සියල්ලන්ම දිවුවේ ?.

විහිළු හාමි නුවණ හාමි දෙසට හොස්ස හරවා මදක් ඉඟි මරා උත්තර දුන්නේ ය.

'බලූ හාමි අපේ මේ රාලහාමි ගේ පස්සෙන් දිවුවා නොවැ?'

'බලූ හාමි' ය කියනවාත් සමඟ ම, සියලු සිවල්ලු උඩ ගොස් වැටී, ඇස් මහත් කොට ඇර, වට පිට බලන්නට වූ හ.

'නෑ, නෑ. බලූ හාමි නෑ. රාලහාමි පැන් බොන්නට හොස්ස ගල් කෙමට දික් කරනවාත් එක්ක දියේ හැංගී සිටි බලූ හාමි රාලහාමි ගේ හොස්ස කඩා-ගන්නට පැන්නා, ඉතින් රාලහාමි දිවුවා, මාත් දිවුවා, ඔබත් හැමත් දිවුවා. මා රාලහාමි ගෙ පස්සෙන් දිවුවා. රාලහාමි හිතාගත්තා ' බලූ හාමි පස්සෙන් එළවා-ගෙන එනවා' ය කියා. ඉතින් පණ එපා ය කියා දිවුවා තමා. මාත් නෑර ම දිවුවා. රාලහාමි ගුහාවට වැදී පස්ස බැලූවා ම තමා ඇත්ත එළි වුණේ ?'

නුවණ හාමි රවා බැලී ය. සෙසු සියලු සිවල්ලු සිනා සෙන්නට වූ හ.

' ඉතින් කොහි ද බලූ හාමි?' ය යි එකෙක් ඇසීය.

' බලන්න, බලන්න, තව ම ගල් කෙමේ ඇති ය යි විහිළු හාමි කීය.

සිවල්ලු නැවැත ද වෙවුලා-ගියෝ ය. එකෙකුත් ගල් කෙමට ළං නො වෙයි.

' මා බලනවා. කමෙක් නෑ අහු වුණත්. හැම ද ම ඉන්නට පුළුවන් ද? මැරෙන දවසකුත් එනවා නො වැ?'

මෙ සේ කියා විහිළු හාමි, ඇඟ වෙවුලුවමින්, හිස සලිත කෙරෙමින්, ඇස් ඔරවමින්, කට අරිමින්, මහත් බය දක්ව-දක්වා, අඩියෙන් අඩිය ගල් කෙමට ඇදුණේ ය. නුවන හාමි ලජ්ජායෙන් බිම බලා-ගත්තේ ය. ඉතිරි සිවල්ලූ ඇත් ව සිටියෝ ය.



විහිළු හාමි කෙමට ඇදෙයි, වරක් සර්වාංගය වෙවුලුවයි, වරක් හිස සලිත කෙරෙයි, ඇස් බමවමින් වරක් දකුණු අත බලයි, වරක් වම් අත බලයි, වරක් කට ඇර හිස ඔසොවා කෙමෙට එබෙයි. මෙ සේ මඳින් මඳ ඇදී දිය කෙළවරට ලං වූ විහිළු හාමි, එක් වර ම. දිවෙන්නට මෙන් ඉගුළුණේ ය. නුවණ හාමි හැර සෙසු සියලූ සිවල්ලූ බඹ ගණන් දිව ගොස් හැරි බැලූ හ. විහිළු හාමි සිනා සෙයි. නුවණ හාමි තවම

බිම බලා සිටී. වරින් වර මඳක් හිස ඔසොවා විහිළු හාමි දෙස රවා බලයි.

දිවුු සිවල්ලු විහිළු හාමි ගේ විහිළුව හැඳින හැරී ආවෝ ය. විහිළු හාමි හිනාව උත්සාහයෙන් නවත්වා දෙඩුවේ ය.

'ඇයි, දිවුවේ ?'

' ඇයි ඔබ දුවන්නට ඉගිළුණේ ?'

'මා හිතුවා බලු හාමි දියේ හැංගී සිට මට ටිකින් ටික ළං වුණා ය කියා. පස්සේ මට අහු වුණේ. ඒ මගේ ම හෙවණැල්ල.'

අනේ සිවලුන් සිනා සුන සැටි සමහරු බිම පෙරළි-පෙරළී සිනා සුණෝ ය. ඊයේ වුණ හරිය මොහොතක් මතක නැති විය. නුවණ හාමි පමණක්බිම බලා-ගත් වන ම නො සෙල්වී සිටියේ ය. ඔහු ගේ තේජස දැන් නැත. ශෝකයෙනුත් ලජ්ජායෙනුත් පිරුණු ඔහු ගේ ළයෙහි වෙන කිසිවකට ඉඩෙක් නැති.

පැය බාගයක් පමණ සිනායෙන් ම ගත වූ පසු විහිළු හාමි නුවණ හාමිට ළං වූ යේය.

'එන්න, රාලහාමි, පැන් පොදක් බොන්නට. විහිළුත් එපා යැ ? එය නැත් නම් සිතට නැහෙන්නේ ජීවිතයේ කරදර ම යි. එ විට ජීවිතය තිත්ත වෙයි. එන්න, එන්න.'

නුවණ හාමි කීකරු වූයේ ය. ඉතිරි සිවල්ලු ද කෙම දෙසට ඇදුණෝ ය. දැන් ගල් කෙම වටා එක සිවල් වැටෙකි. දිය ඇතුළේ තවත් සිවල් වැටෙකි. සියල්ලෝ පැන් බොති. සියල්ලන් ගේ දිව් පැනට ඇදී හඬක් නඟමින් පැන් පටලවා කටට අදී. සියල්ලෝ වරක් හිස ඔසොවා තොල කට ලෙව කා, පූ පැන් ඇද්දැ යි බලති. මදි බව පෙනී යළිත් හොස්ස ලං කෙරෙති. දිව එළියට ඇදී ' තව තවත්, තව තවත්, තව තවත්' යි කියන්නාක් මෙන් ශබ්දයක් නඟමින් පැන් පටලවා-ගෙන කටට අදී.

පිපාසාව සන්සිඳුණු පසු සියල්ලෝ කෙම් ඉවුරෙහි එක් තැන් වූ හ. විහිළු හාමි දෙඩීම පටන්-ගත්තේ ය.

' මඟුල් කෑමට පස්සෙන් පැන් පූවේ දැනුයි'

සිවල්ලු හොර ඇසින් නුවණ හාමි දෙස බලා හීන් සිනා සෙන්නට වූහ. නුවණ හාමි රවා බලා කෝපයෙන් දෙඩුවේ ය.

'හැම වේලාවට ම, හැම තැන ම, විහිළු හොඳ නෑ. මඟුලේදීත් විහිළු ඉලව්වේ දීත් විහිළු අපට දැන් මඟුල් නො වෙයි, ඉලවු. අනේ, මගේ පුතා '

නුවණ හාමි ගේඇසින් කඳුළු කඩා හැළෙන්නට වූ යේ ය. ඉතිරි සිවල්ලු ද මුහුණ හකුළුවා-ගත්හ. සමහරුහඬන්නට ද උත්සාහ කළ හ. ශෝකයට වාරය පැමිණියේ ය. විහිළු හාමිට පවා විහිළු මතක නැති වුණා මෙන් විය.

'අනේ, ඒ කුමක්වුණා දැ?' යි මහලු සිවලෙක් ඇසී ය.

නුවණ හාමි ඉකි ගසමින් දෙඩුවේ ය. 'කුමක් වුණා ද? අපේ සියලු අදහස් සම්පූර්ණ වන්නට ළං වුණා විතර යි. ගොවි හාමි ගේ ගිනි දංඩ පිපිරුණා. කොයින් අවා ද මා දන්නේ නෑ.

අනේ මගේ පුතා  මෙ පමණ අප සිටිය තැන මගේ පුතාට ම නොවැ එය වැදුණේ? අනේ, මගේ පුතා

නුවණ හාමිට තවත් දෙඩා-ගන්නට බැරි විය. වෙන සිවලෙක් පටන්-ගත්තේ ය.

' වෙන කාට වදින්නට ද? හීන් හාමිට ඉවැසිලි නැති ව ගියා. ඔහු අර කිකිළිය කටට ම ගත්තා. ඈ මර හඩ දුන්නා විතර යි. ' ඩොන් ' ගලා පිපුරුවා.'

තව සිවලෙක් කටේ අගුළු ඇරියේ ය.

'එ පමණෙක් ද? ඒ එක්කම අර කාලකණ්ණි බලු හාමි කඩා-ගෙන පැන්නා. ඊට පසු කුමක් වුණා ද කියා වත් මා දන්නේ නෑ.'

දැන් සිවල්ලු එක-එකා පරදවා දෙඩන්නට වදිති.

' අපේ කපට හාමි සිටියේ හීන් හාමි ළඟ ම යි. අනේ ඔහුට වත් බැරි වුණා නොවැ අසරණ හීන් හාමි ගලවා-ගන්නට ? කපට හාමි, මන්ද හීන් හාමිට පිහිට නුණේ ?'

සියල්ලෝ ම කපට හාමි ගේ පිළිතුර අසන්නට කත් කෙළින් කළ හ. එහෙත් කපට හාමි ගෙන් හඩෙක් නො එයි.

' ඇයි, කපට හාමි නොදෙඩන්නේ ? කොහි ද? කොහි ද? කපට හාමි ?'

සියලු සිවල්ලු දැන් කපට හාමි සොයති. හීන් හාමි ගැන නො සලකා, පණ බේරා-ගන්නට දිවූ හෙයින් ලජ්ජායෙන් ඔහු මුහුණ සඟවා-ගෙන ඇතැ යි කවුරුත් සිතූ හ. කපට හාමි නම් දක්නට නැත. 'කපට හාමි, කපට හාමි ' ය යි මහත් හඬ නැඟුව ද පිළිතුරෙක් නො ලැබෙයි.

නුවණ හාමි ගේ සිත ද කපට හාමි දෙසට හැරුණේ ය. ඔහු ගේ පුත්‍ර ශෝකය ද නැති විය.

' ඇයි, කපට හාමි නැද්ද ? බලන්න, බලන්න.'

ඒත් කපට හාමි නැති ම ය. මේ තාක් නිහඬ සිටි විහිළු හාමි හඬ නැඟී ය.

' කපට හාමි නැද්ද ?'

'නෑ.'

' යමු කුකුළා ගමුවට බලන්නට. හැබෑවට ම හීන් හාමි ගැන නොසැලැකුවාට කපට හාමි දෙස් නඟන සැටි හීන් හාමිට ඉතා ලොකු සැලැකිල්ල කෙළේ කපට හාමි. කපට හාමි පමණයි හීන් හාමි දෙසවත් බැලුවේ. හීන් හාමි වැටෙනවා හා සමඟ හයියෙන් ම දිවුවේ හීන් හාමි ගේ කිට්ටු ම නෑයන්. කපට හාමි බැලූ නිසා, අර දරුණු බලු හාමි ගේ කටට අසු වුණා. එයින් කුමක් වුණා ද? කපට හාමි සිය ජීවිතය හීන් හාමිට පිදුවා. මාත් යන්තම් උදවු වන්නට පිළිවන් දැ? යි බැලුවා. බලු හාමි කපට හාමි

ගේ උගුරු දංඩ කැඩුවාට පසු යි මා හැරී දුවුවේ.'

විහිළු හාමිට පිට කැර-ගන්නට පිළිවන් වූයේ මෙ පමණ යි. තවත් කිය යුතු දේ තිබුණත්, ඒ සියල්ල කටින් පිට නො වී උගුරින් ඇතුළට යන බව පෙනුණේ ය.

විහිළු හාමි බිම බලා ගත්තේ ය. ඉතිරි සියලු සිවල්ලු ද මහත් ශෝකයෙන් නිහඬ වූ හ. විහිළු හාමි ගේ උර හිස පිට තුබූ මහත් තුවාළයෙන්, ඔහු ද බලු හාමි ගේ කටින් සංග්‍රහ විඳි බව කාටත් පෙනුණේය.

' අනේ, කපට හාමි, අනේ කපට හාමි ' යනු සියලු සිවලුන් ගේ කටින් නික්මිණ.

මඳ වේලාවක් මෙ සේ සිට, දිග සුසුමක් හෙළා කවුරුත් යන්නට පිටත් වූ හ. විහිළු හාමි සිට, ඉදිරියට එසැවූ පය පස්සට ඇද තබා 'රාලහාමි ' ය යි කීයේ ය. නුවණ හාමි පස්සට හැරී, කන් කෙළින් කෙළේය.

'එ ද අර අපේ ඔට්ටුව ' යි විහිළු හාමි කී ය.

'කවර ඔට්ටුව ද?'

' ඇයි ඔබට මතක නැද්ද ? ඒ උගුල අටවන්නට මුල දී කළ ඔට්ටුව '

නුවණ හාමි හිස ඔසොවා මදක් සිතිවිල්ලේ උන්නේ ය. ඔහුට මතක් විය. ලජ්ජායෙන් සිත පිරුණේ ය. හිස පහත් ව බිමට හැරුණේ ය. ඔහු ගේ කටේ යතුරු වැටිණ.

' කිමෙක් ද? කිමෙක් ද? යි සෙසු සිවල්ලු අසන්නට වූ හ. එ ද දෙඩුම අසා සිටි සිවල්ලු සිතා

සෙන්නය වූ හ. විහිළු හාමි කාරණය පහද දුන්නේ ය.

'කුකුළු මස් හොඳට ම කන්නට සිතා අපේ රාලහාමි තමා මේ උපාය යෙදුවේ. මේ ගැන මා සැක කළා ම, රාලහාමි ඔට්ටුවක් අල්ලන්නට ආවා. අප එක-එකාට අඩු ගණනේ එකා බැගින්වත් කුකුළන් මෙ තැනට නො ගෙනාවොත්, නමේ මුලට 'අ' යන්න යොදන්නට කීවා. අපි කීකරු වෙමු. අපේ රාලහාමි නොවැ?'

'අනුවණ හාමි, අනුවණ හාමි, ය යි හැඩී දැඩි සිවල්ලු කීප දෙනෙක් මහ හඬ නගා කී හ.

### අභ්‍යාස වැඩ

1. මේවායේ අදහස වෙන වචන වලින් ලියන්න.
   මරු අවතාර, ළය බුරුල් කොට-ගෙන කටේ වැස්ම බුරුල් කෙළේ ය. සර්වාංගය, සලිත, බමවමින්, මදින් මද, ශෝකයෙනුත්.
2. මඟුල් කෑමෙන් පසු සිවලුන් ගෙන් නැති වූවෝ කවුරු ද?
3. මඟුල් කෑමෙන් නුවණ හාමිට ලැබුණේ කිමෙක් ද? විහිළු හාමිට ලැබුණේ කිමෙක් ද?
4. සිවලුන් නිදා හොත් තැන්වලින් එළියට එන්නට වත් බිය වූයේ කා ගේ සිහියෙන් ද?

### රඟ දැක්වීම

5. (1) විහිළු හාමි ගේත් නුවණ හාමි ගේත් දිවීම රඟ දක්වන්න.
   (2) විහිළු හාමි ගේත් මහ සිවලා ගේත් කතාව රඟ දක්වන්න.
   (3) ගල් කෙම වටා හිඳ සිවලුන් මඟුල් කෑම ගැන කතා කළ හැටි රඟ දක්වන්න. ( තුන් දිනකට )